# බුද්ධ ධර්මය

## 3 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට
www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

## අධ්‍යාපන අමාත්‍යාංශයේ බෞද්ධ උපදේශක මණ්ඩලය විසින් අනුමත කරන ලද ගුරු වන්දනා ගාථාව සහ අධිෂ්ඨාන පද්‍යය

### ගුරු වන්දනා ගාථාව

ඕවාද සිප්ප දානේන
සික්ඛාපේති මමං ගරු
සගාරවේන චිත්තේන
අහං වන්දාමි තං ගරුං

ඔවා සිප් දීමෙන
මා හික්මවන පේමෙන
ඇදුරු හද බැතියෙන
වඳිමි ගුරු සිත පෙරටු කරමින

### පාසල් උදෑසන රැස්වීම අවසානයේ කෙරෙන අධිෂ්ඨානය

තෙරුවන පුදා සිහිකර මාපිය දෙදෙන
ගුරු සිත දිනා ඔප කර ගෙන ගුණ නුවණ
කරමින සබා විදුහල් මැණිගෙ සිහින
සුරකිමි සදා මගෙ රට ජාතිය සසුන

රචකඃ පූජ්‍ය ගන්තුනේ අස්සජී හිමි



"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරැදි දැනුමෙන්
රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"

<u>ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය</u>

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල සීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇති. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මඟින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් ඔබට හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම සුබ ප්‍රාර්ථනය කරමි.



අකිල විරාජ් කාරියවසම්
අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ඔබ ජන්මලාභය ලබා ඇත්තේ ඉන්දීය සාගරයේ මුතු ඇටය යැයි විරුදාවලී ලත් රටකය. ඔබේ රට අන් රටවල් හා සැසඳූ කල කුඩා රටක් ලෙස පෙනුණද එහි අගය අමිල ය. එවන් අගනා පුණ්‍යභූමියක උපන් ඔබ සැම සැබවින්ම වාසනාවන්ත පිරිසකි. සිසු දරුදැරියන් වන ඔබ සැම, හොඳින් අධ්‍යාපනය ලබා ගුණ නැණ බෙලෙන් යුතු පුරවැසියන් ලෙස අනාගත ලෝකය එළිය කරනු දැකීම අපගේ ඒකායන අපේක්ෂාවයි. එම අපේක්ෂාව මුදුන්පත් කරලනු පිණිස අධ්‍යාපනය සඳහා අවශ්‍ය සියලු පහසුකම් නොමිලේ සැපයීමට රජය කටයුතු කරයි. මෙම පොත ඔබට තිළිණ කෙරෙන්නේ ද  එහි එක් පියවරක් වශයෙනි.

නව ප්‍රාථමික විෂය මාලාවට අනුව මේ වන විට 1, 2, 3 සහ 4 ශ්‍රේණි සඳහා නව පෙළපොත් හඳුන්වා දී ඇත. 2020 වර්ෂයේ දී 5 වැනි ශ්‍රේණියට නව පෙළ පොත් හඳුන්වා දීමෙන් අනතුරුව මෙම අදියරේ ප්‍රාථමික විෂයමාලා සංශෝධනය නිමාවට පත්වේ. 1 ශ්‍රේණියේ සිට 5 ශ්‍රේණිය දක්වා ප්‍රාථමික ශ්‍රේණිවල සිප් සතර හදාරන ශිෂ්‍ය ප්‍රජාව වෙනුවෙන් රජය තිළිණ කරන පෙළපොත් සංඛ්‍යාව 30 ක් පමණ වේ. මේ වටිනා සම්පතින් ජීවිතය ආලෝකවත් කර ගැනීමට කටයුතු කිරීම ඔබ සැමගේ වගකීම විය යුතුය.

මෙම පෙළපොත ඔබ අතට පත් කිරීම සඳහා කැපවීමෙන් කටයුතු කළ ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ට සහ අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයට මාගේ ස්තුතිය පුද කරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

**නියාමනය හා අධීක්ෂණය :**

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක**

අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම :**

**ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි**

අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය :**

**ඩී. එම්. ජයන්ත පුෂ්පකුමාර**

නියෝජ්‍ය කොමසාරිස් (පාලන)

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**උපදේශක මණ්ඩලය :**

1. **අතිපූජ්‍ය ගන්තුනේ අස්සජි මහානායක ස්වාමීන් වහන්සේ**
   විශ්‍රාමික කථිකාචාර්ය, ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය

2. **ආචාර්ය පූජ්‍ය මාබුල්ගොඩ සුමනරතන ස්වාමීන් වහන්සේ**
   නියෝජ්‍ය අධ්‍යක්ෂ ජනරාල්, ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

3. **එස්. බී. එම්. නිමල් ධර්මසිරි**
   අධ්‍යක්ෂ, ආගමික හා සාරධර්ම අංශය, අධ්‍යාපන අමාත්‍යාංශය

4. **ගුණසේන මහතන්ත්‍රිගේ**
   විශ්‍රාමික නියෝජ්‍ය අධ්‍යාපන අධ්‍යක්ෂ, අධ්‍යාපන අමාත්‍යාංශය

5. **ලීලා බලදොර**
   විශ්‍රාමික ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, හාපිටිගම ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය

**සිංහල භාෂා සංස්කරණය :**

**අයි. රංජිත්**
නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය :**

1. **පූජ්‍ය කොටතෙළුවේ පුඤ්ඤානන්ද ස්වාමීන් වහන්සේ**
   ගුරු උපදේශක, ශ්‍රී නාලන්දා ධර්මායතන පිරිවෙන, ගල්කිස්ස

2. **පූජ්‍ය උඩුගම සුදස්සී ස්වාමීන් වහන්සේ**
   දෙපාර්තමේන්තු ප්‍රධානී, ආගම් හා සාරධර්ම අධ්‍යාපන දෙපාර්තමේන්තුව,
   ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

**ලේඛක මණ්ඩලය :**

1. **පූජ්‍ය දමන සුගතධම්ම ස්වාමීන් වහන්සේ**
   කථිකාචාර්ය, හාපිටිගම ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය

2. **ආර්. එච්. දීපිකා පෙරේරා**
   ගුරු සේවය, බප/ජය/ ධර්මාශෝක කනිෂ්ඨ විද්‍යාලය

3. **චන්ද්‍රිකා අඹේපිටිය**
   විශ්‍රාමික උපගුරු, කො/ දේවි බාලිකා විද්‍යාලය

**චිත්‍ර සහ පිටකවර නිර්මාණය :**

**ඩබ්. පී. සුසිල් ජයශාන්ත පෙරේරා**

**පරිගණකගත කිරීම සහ පිටු නිර්මාණය :**

**පී. ඒ. ශයිනි ඉමල්ෂා විජේවර්ධන**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

# 01 බෝසත් කුමරුට පිය රජතුමාගේ දෙවන වැඳුම

කිඹුල්වත්පුරය උත්සව සිරියෙන් බැබළුණා.
ගොවිතැන් වැඩ පටන් ගන්න කාලය එළැඹුණා.
වප්මඟුල් උත්සවයට ගොවියෝ සූදානම් වුණා.
සුද්ධෝදන මහ රජතුමා
පුංචි සිදුහත් කුමරු රැගෙන
පිරිස සමඟ උත්සවයට පැමිණියා.

සිදුහත් කුමරු කිරිමවුවරුන්ට භාර දී
රජතුමා නැකතට කුඹුරට බැස්සා.
ජනතාව ප්‍රීති ඝෝෂා කළා.
උත්සවයේ වැඩ ඇරඹුණා.

කිරිමවුවරු දඹගසක් යට තැනූ
යහනාවක පුංචි සිදුහත් කුමරු තැබුවා.
කුමරුට නින්ද ගියා.
උත්සවය බලන්න ආසා හිතුණු කිරිමවුවරු
කුඹුරට ගියා.
කුමරු ඇහැරුණා.
ළඟ කවුරුත් නැති බව දැන ගත්තා.
පළඟක් බැඳ ආනාපාන සති
භාවනාව කළා.

හිත හොඳට ම සංසුන් වුණා.
සමාධිගත වුණා.
ආපසු පැමිණි කිරිමවුවරු මෙය දැක පුදුම වුණා.

රජතුමාත් පුංචි සිදුහත් කුමරුගේ භාවනා විලාසය දැක පුදුම වුණා.
රජතුමාගේ නෙතින් සතුටු කඳුළු වැටුණා.
සෙනෙහස දරාගන්න බැරි වුණා.
"පුතුනි, ඔබට මේ මාගේ දෙවන වැඳුම"යි
කියා පුත් කුමරුට වැන්දා.



## ක්‍රියාකාරකම

නිවැරැදි පිළිතුර යටින් ඉරක් අඳින්න.

1. සුද්ධෝදන රජතුමා සහභාගි වූ උලෙළේ නම
   (වප්මඟුල් උලෙළ / නම් තැබීමේ උලෙළ) යි.

2. එදා බෝසත් සිදුහත් කුමරු භාර දුන්නේ
   (කිරි මවුවරුන්ට / රාජ කුමාරිකාවන්ට) යි.

3. වප්මඟුල් දින සිදුහත් කුමරු වඩන ලද භාවනාව
   (ආනාපාන සති භාවනාව / මෛත්‍රී භාවනාව) යි.

4. පුතුනි, ඔබට මේ මාගේ දෙවන වැඳුමයි. මෙසේ ප්‍රකාශ කළේ,
   (සුද්ධෝදන රජතුමා/ මහා මායා දේවිය) ය.

# 02 ශිල්ප උගනී කුමරු සොඳවා

සීයා පොහොය දිනයට බෝසත් චරිතය පිළිබඳ කතා කියා දෙනවා. මෙවර පසළොස්වක පොහොය දවසේ දුමිඳුට කියා දුන්නේ සිදුහත් කුමරු ශිල්ප ඉගෙන ගත් ආකාරයයි.

දුමිඳු : සීයේ, සිදුහත් කුමාරයා ශිල්ප ඉගෙන ගත්තේ මොන පාසලේ ද?

සීයා : පාසලකට ගියේ නෑ පුතේ, කුමාරයා ශිල්ප ඉගෙන ගත්තේ රජමාලිගාවේ දී.

දුමිඳු : එතකොට සීයේ සිදුහත් කුමරුට ශිල්ප ඉගැන්වූ ගුරුතුමා කවුද?

සීයා : පුතේ, සර්වමිත්‍ර පඬිතුමා තමයි සිදුහත් කුමරුට ශිල්ප ඉගැන්නුවේ.
සර්වමිත්‍ර පඬිතුමා එකල සිටි වැඩිහිටි, දක්ෂ, උගත් පඬිවරයෙක්.
එතුමාට විශ්වාමිත්‍ර කියලත් කියනවා.
සුද්ධෝදන මහ රජතුමා, ඇදුරුතුමා රජ මාලිගාවට කැඳවා මෙහෙම කිවුවා.

"ඇදුරුතුමනි, අද සිට ඔබයි මගේ පුතාගේ ගුරුතුමා. පුතාට සක්විති රජකුට අවශ්‍ය ශිල්ප උගන්වන්න."
ගුරුතුමා බොහෝම සතුටින් කුමරුට ශිල්ප උගන්වන්න භාර ගත්තා.



දුමිඳු : ඉතින් සීයේ, සිද්ධාර්ථ කුමාරයා ඉගෙන ගත්තේ මොනවා ද?

සීයා : රජ කුමරකුට අවශ්‍ය සියලු දේ ඉගෙන ගත්තා. කඩු ශිල්ප, දුනු ශිල්ප, අකුරු ලිවීම, කියවීම, රාජ්‍ය පාලන නීති රීති ආදි සියල්ල ම ගුරුතුමා හොඳින් ඉගැන්නුවා.
කුමාරයා ඒ සියල්ල හොඳින් ඉගෙන ගත්තා.
ඒ වගේ ම කුමාරයා ගුරු බසට හොඳින් කීකරු වුණා.



දුමිඳු : සිදුහත් කුමරු හරි ම දක්ෂයි නේද සීයේ?

සීයා : ඔව් පුතේ, කුමාරයා හරි ම දක්ෂයි. කියා දෙන හැම දෙයක් ම එකවර ඉගෙන ගත්තා. ගුරුතුමා සිදුහත් කුමරු ගැන සතුටු වුණා.

රජතුමා සමීපයට ගිය ගුරුතුමා මෙසේ කිවුවා.
"රජතුමනි, මම දන්නා සියලු ශිල්ප කුමාරයා හොඳින් ඉගෙන ගත්තා."



කුමරුගේ දක්ෂතා අහලා රජතුමා පුදුම වුණා, ආඩම්බර වුණා. රජතුමාට හරි ම සතුටුයි.
ගුරුතුමාට තෑගි බෝග දුන්නා.
තමා උගත් ශිල්පය ගැන කුමාරයා සතුටු වුණා.

## පුහුණුවට

| | |
|---|---|
| කඩු දුනු ශිල්ප | දැනගත් |
| බෝසත් කුමරු | සිදුහත් |
| බසින් විය | පොහොසත් |
| සියලු ශිල්පය මනා කොට | දත් |

## ක්‍රියාකාරකම

1. සිදුහත් කුමාරයාගේ ගුරුවරයාගේ නම කුමක් ද?

2. සිදුහත් කුමරු ඉගෙනගත් දේවල් ලියන්න.

# 03 රජ්ජුමාලා

උරුවෙල් දනව්වේ ගයා ප්‍රදේශයේ බමුණු ගෙයක් තිබුණා. එහි දාසියක් සිටියා. ඇගේ නම මාලා. ඇයට දිග කෙස් වැටියක් තිබුණා.

ඒ ගෙදර සිටි බමුණාගේ ලේලිය ඉතා ම නපුරුයි. ඇය නිතර ම මාලාට හිංසා කළා, බැන්නා. මාලාගේ දිග කෙස් වැටියෙන් අල්ලා ගෙන නිතර ම පහර දුන්නා. අසරණ මාලා හුඟක් දුක් වුණා.

ඉවසීමට බැරි වූ තැන මාලා තම අලංකාර කෙස් වැටිය කපා දැමුවා. එයින් බමුණාගේ ලේලිය කෝපයට පත් වුණා. ඇය මාලාගේ ගෙලට ලණුවක් දමා ඒ ලණුවෙන් ඇද පහර දුන්නා. මාලාගේ බෙල්ල තුවාල වුණා. ඇයට ලොකු වේදනාවක් ඇති වුණා.

මේ ලණු මාලය නිසා මාලා - **රජ්ජුමාලා** නමින් හැඳින්වුණා. දිනපතා හිරිහැර විඳීමට සිදු වූ නිසා රජ්ජුමාලාට ජීවිතය එපා වුණා. ඇය දිනක් දිය ගෙන ඒමට යන බව අඟවා, කළයක් රැගෙන නිවසින් පිට වී ගියා. ඇය කැලයකට ගොස් ජීවිතය නැති කර ගැනීමට උත්සාහ කළා.

"දියණිය රජ්ජුමාලා - දිවි තොර කර ගන්න එපා, මා වෙතට එන්න."

ඇයට ඉතා මිහිරි කරුණාබර හඬක් ඇසුණා. ඇය වටපිට බැලුවා. ගසක් මුල වැඩ සිටි බුදුරජාණන් වහන්සේ ඇයට දකින්නට ලැබුණා.



ඇය බුදුරජාණන් වහන්සේට වැඳ පසෙකට වුණා. බුදුරජාණන් වහන්සේ රජ්ජුමාලාට ධර්මය දේශනා කළා. ධර්මය ඇසූ ඇය සෝවන් වුණා. ඇය තුළ මෛත්‍රී සහගත අදහස් ඇති වුණා.

තමාට බොහෝ සේ කරදර හිරිහැර කළ ස්වාමිදූවට ද ඇය මෛත්‍රී කළා. කළයට දිය පුරවා ගත් ඇය සිනා මුසු මුහුණින් ගෙදර ගියා. වෙනදාට වඩා ඉතා ම කැමැත්තෙන් ගෙදර සියලු ම වැඩ කළා.

ගෙදර බමුණාට එය මහත් පුදුමයක් වුණා. ඇගේ සතුටට හේතුව ඇසුවා.

"මම අද බුදුහාමුදුරුවෝ සරණ ගියා. මීට පස්සෙ මට කිසිවෙක් කොතරම් පහර දුන්නත් මම අමනාප වෙන්නෙ නැහැ. හැම දෙනාට ම මෛත්‍රී කරනවා," රජ්ජුමාලා කිවුවා.

බමුණා රජ්ජුමාලා ගැන පැහැදුණා. ඇයට හිරිහැර නොකරන ලෙස ලේලියට කිවුවා.

බමුණා රජ්ජුමාලාගෙන් තොරතුරු ඇසුවා. බුදුරජාණන් වහන්සේ තම නිවසට වැඩමවා දානය පූජා කළා. බමුණාගේ ලේලිය ද බුදුරජාණන් වහන්සේගෙන් බණ අසා කාරුණික තැනැත්තියක් වුණා. ඇය ඊට පසු කිසි ම දිනක රජ්ජුමාලාට හිරිහැර කළේ නැහැ.

බුදුරජාණන් වහන්සේගේ කරුණාව නිසා රජ්ජුමාලාට සෙත සැලසුණා. බමුණා ඇය දාස භාවයෙන් නිදහස් කළා. තමන්ගේ දියණියකට ලෙසින් ආදරයෙන් කරුණාවෙන් සැලකුවා.

## ක්‍රියාකාරකම

නිවැරැදි පිළිතුරු ලියන්න.

1. මාලා සිටියේ කුමන ගෙදරක ද?

2. මාලා දුක් වුණේ ඇයි?

3. රජ්ජුමාලාට පිහිට වූයේ කවුද?

# 04 තිසරණ සරණ යමු පන්සිල් සුරකිමු

අඳුර වැටීගෙන එන විට අත්තම්මා වතුසුද්ද ගහෙන් මල් නෙළා ධෝවනය කළා.

"පුතේ එන්න අපි බුද්ධ වන්දනාව කරමු," යි සුමුදුට කතා කළා.



පිළියෙල කරන ලද පහන්, හඳුන්කූරු, මල්, ගිලන්පස බුදුරජාණන් වහන්සේ ඉදිරියෙහි තැන්පත් කළා.

අත්තම්මා දොහොත් හිස මුදුනේ තබා ගෙන
සාදුකාර දුන්නා.
තුන්වරක් නමස්කාරය කිවුවා.
තිසරණ සහිත පන්සිල් සමාදන් වුණා.
අපිත් තිසරණ සහිත පන්සිල් සමාදන් වුණා.
ගාථා කියමින් සියලු පූජා ද්‍රව්‍ය පූජා කළා.
සාදු ........ සාදු.......... සාදු...........



## ක්‍රියාකාරකම

1. පසඟ පිහිටුවා වඳින ආකාරය නිරූපණය කරන්න.

2. දොහොත් මුදුනේ තබා බුද්ධ වන්දනාවේ යෙදෙන්න.

## පුහුණුවට

වඳිමි වඳිමි බුදු රුවනට පැහැදී
වඳිමි වඳිමි දම් රුවනට පැහැදී
වඳිමි වඳිමි සඟ රුවනට පැහැදී
වඳිමි වඳිමි තුනුරුවනට පැහැදී

සිය පණ විලසට පර පණ සුරකිමු
සොරකම් කෙරුමෙන් සැම දින වැළකෙමු
නොහොබින ආසාවන්ගෙන් දුරු වෙමු
බොරු බස රහ මෙර සදහට දුරලමු

# 05 යහ ගුණ දම් හුරුවෙමු

පන්සලට යන සඳ
පා හිස්වැසුම් නොපැලඳ
සුදු ඇඳුමින් නිබඳ
සැරසිලා ගොස් කරමු මුනි පුද

කෙළි කවට බස් තද
නොකියා සංවරව හිඳ
මහ සඟන දුටු සඳ
නැගිටලා ගරු කරමු නිති වැඳ

වෙන ආගම් වලට
පූජක තුමන්ලා හට
ගරු කළ යුතු බවට
සිහි තබා ගත යුතු ය සැම විට

මහ සඟ රුවන හට
පනවා තිබෙන අසුනට
ගොසින් හිඳ ගැනුමට
එපා එය පාපයකි අපහට

මළු මංපෙත් ඇමඳ
මල් පහන් සහ සුවඳද
පුදමින් ඇදිලි බැඳ
වඳිමු සිහිකර මුණිඳු ගුණකඳ

ඔබා මිණි පලඳන
ගුරු මවු පියන් නමදින
හොඳ දරුවන් ලෙසින
රැක ගනිමු අපි සැවොම යහ ගුණ

## ක්‍රියාකාරකම

1. විහාරස්ථානයේ දී අප විසින් සිදු කළ යුතු වතාවත් පහක් ලියන්න.

## පුහුණුවට

- ඉහත කවි පන්තිය තාලයට ගායනා කිරීමට පුහුණු වන්න.

# 06

# උපන් දින පින්කම්

තිසර හා මාධව ඉගෙන ගන්නේ තුන් වන ශ්‍රේණියේ. දෙදෙනා ම පාසල නිම වී ගෙදර පැමිණ පාසල් වැඩ අවසන් කරනවා. තිසර හවසට මාධවගේ ගෙදරට සෙල්ලම් කරන්න යනවා.

මාධව ඔයා දන්නවා ද හෙට මගේ උපන් දිනය.
අපි ළමා නිවාසයකට දානයක් දෙනවා.

ඇයි තිසර, ළමා නිවාසයක උපන් දින උත්සවය පවත්වන්නේ ? මාධව ඇසුවා.

අපේ අම්මයි තාත්තයි කියන්නේ, උපන් දිනේ දවසට පන්සලට ගිහිල්ලා, තෙරුවන් වන්දනා කරලා, ආශීර්වාද ලබා ගැනීම හොඳ දෙයක් කියලා. දහම් පාසලේ පොඩි හාමුදුරුවොත් උපන් දිනයට පින්කමක් කිරීම හොඳ දෙයක් බව අපට කියලා දුන්නා.

ඔයා දන්නවා ද? මගේ පළමුවෙනි උපන් දිනය දවසේ අපේ පන්සලේ ලොකු හාමුදුරුවන්ට කියලා සෙත් පිරිත් සජ්ඣායනාවක් කළා කියලා අම්මා කියලා තියෙනවා.

දෙවෙනි උපන් දිනයට කැලණි විහාරේ වඳින්න ගියාලු. එදා අපේ අම්මා බත් මුල් හදාගෙන ගිහිල්ලා විහාරෙ අවට ඉන්න නැතිබැරි අයට බෙදුවාලු.
ඒ අය බත් මුල් අරගෙන මට පින් දුන්නලු.
නැති බැරි අයට ආහාර දීම හොඳ පින්කමක්නේ.

මගේ තුන්වෙනි උපන් දිනයට අපේ ගෙදර දානමය පින්කමක් පවත්වලා තිබුණා. මගේ ඇල්බමයේ ඡායාරූප පෙන්වලා අත්තම්මා මට ඒ ගැන විස්තර කියලා දුන්නා.

මගේ හතරවෙනි උපන් දිනය සැමරුවේ රෝහලකලු.



ඒ ගැන නම් මට මතකයි. එදා රෝහලක ළමා වාට්ටුවක යහළුවන්ට රස කැවිලි, සෙල්ලම් බඩු තෑගි කළා.

ඒ අය සෙල්ලම් බඩු හරි ම ආසාවෙන් ගත්තා. ඒ ළමයින්ගේ අම්මලා මගේ ඔළුව අතගාලා 'නීරෝගී සුවය ලැබේවා'යි කිවුවා මට මතකයි.

ඉතිං, ඔයාගේ පස්වෙනි උපන් දිනය සැමරුවේ කොහොම ද තිසර?

පස්වෙනි උපන් දිනය සැමරුවේ වැඩිහිටි නිවාසෙක. එදා ඒ නිවාසයේ ඉන්න අත්තම්මලා, සීයලා හරියට සතුටු වුණා. ඒ අයගේ දරු මුණුබුරන් මතක් වෙලා වෙන්න ඇති සමහර අත්තම්මලා ඇඬුවා.

මගේ හයවෙනි උපන් දිනය වන විට මං පාසල් යනවානේ. මගේ පංතියේ හිටියා තාත්තා නැති යාළුවෙක්. එයාගේ අම්මා හරි ම අමාරුවෙන් එයාට ඉගෙන ගන්න වියදම් කළේ.

ඒ යාළුවාට පාසල් ගෙනයන්න පොත්, පැන්සල්, බෑග්, සපත්තු, ඇඳුම් ආදි ගොඩාක් තෑගි දුන්නා.
එයාගේ අම්මා අපට පින් දුන්නා.
යාළුවාට ගොඩාක් සතුටුයි. මමත් හරියට සතුටු වුණා.



ගිය අවුරුද්දේ මගේ උපන් දිනයත්, පන්සලේ කඨින පින්කම් මාලාවේ මල් පූජා පින්කමත් එක ම දවසේ යෙදිලා තිබුණා. අපේ අම්මා මට ආශීර්වාද කරන්න, ඒ පින්කම භාර අරගෙන තිබුණා.

එදා පින්කම අවසානයේ ලොකු හාමුදුරුවෝ උපන් දිනය දා පින්කම් පවත්වන එක ගැන හොඳ අනුශාසනාවක් කළා. මට ආශීර්වාද කරලා පිරිත් නූලකුත් ගැට ගැසුවා.

ඉතිං තිසර ඔයා හැම අවුරුද්දේ ම උපන් දිනේට පින්කම්නෙ කරලා තියෙන්නේ.
මගේ උපන් දිනවලට නම් හැම අවුරුද්දේ ම උත්සව ගත්තා.

**ලොකු උත්සව පවත්වලා මුදල් නාස්ති කරන්න හොඳ නෑ. ඒ මුදලින් උපන්දිනේට පින්කමක් කරලා ඊට වඩා සතුටු වෙන්න පුළුවන්.**

හොඳයි තිසර, මමත් මගේ ඊළඟ උපන් දිනයට පින්කමක් කරමු කියලා අම්මටයි තාත්තටයි කියනවා.

## ක්‍රියාකාරකම

1. උපන් දින දවසට තිසර කළ පින්කම් ලියන්න.

# 07

# හොඳ දුවක්

"මගේ පන්තියේ දුවක් සිටිනවා. ඇය හරි ම ලස්සනයි; මුහුණ හරි ම පැහැපත්; හරි ම නීරෝගීයි; දිනපතා ම පාසලට එනවා; පාඩම් වැඩ හොඳින් කරනවා; පොත් පත් හරි ම පිරිසිදුයි; පිළිවෙළයි. විභාගයේ දී හැම විෂයකට ම හොඳට ලකුණු ලබා ගන්නවා; ගුරුවරුන්ට හරි ම කීකරුයි," යැයි පන්තිභාර ගුරුතුමිය එක දිගට ම පන්තියේ දෙමාපිය හමුවේ දී කියාගෙන ගියා ය.

"මං මේ විස්තර කිවුවේ අපේ පන්තියේ මෙවරත් පළමුවෙනියා වුණු රන්දි දුව ගැන. අද දෙමාපිය හමුවට රන්දිගේ අම්මාත් තාත්තාත් ඇවිත් ඉන්නවනේ. අපි රන්දිගේ අම්මාගෙන් අහලා බලමු රන්දි දක්ෂ, කීකරු, නීරෝගී දුවක් වුණේ කොහොම ද කියලා."

"රන්දි හැම දා ම උදේ පාන්දරින් ම අවදි වෙනවා. අවදි වෙලා පිරිසිදු වතුර වීදුරුවක් බොන්න පුරුදු වෙලා ඉන්නවා. ඒ නිසා එයා හරි ම නීරෝගීයි.



දිනපතා ම නාලා පිරිසිදුව ඉන්න රන්දි හරි ම කැමැතියි. ඇය උදේ ආහාරය අරගෙනමයි පාසල් එන්නේ." රන්දිගේ අම්මා කතා කරන්නට පටන් ගත්තා.



උදේ ආහාරය නිවැරැදි වෙලාවට හොඳ පෝෂණයෙන් යුක්ත ව ගැනීමට අප පුරුදු විය යුතුයි. බත්, ධාන්‍ය වර්ගයක් හෝ අල වර්ගයක් උදේ ආහාරය ලෙස ගැනීමට අප හැමවිට ම උත්සාහ කළ යුතුයි.

"ඇය නීරෝගී නිසා දිනපතා ම පාසලට පැමිණෙනවා. ඒ වගේ ම උදෑසන පාසල ආරම්භ වීමට පෙර පාසලට ඒමටත් ඇය හරි ම කැමැතියි.
උදේ ම පාසලට ඇවිත් පන්තිය හා අවට පරිසරය පිරිසිදු කිරීමටත් උදවු වෙනවා.



රන්දි පොත්පත්වල වැඩ කාලසටහනකට අනුවයි කරන්නේ.
එක් එක් දිනවල විෂයයන් බෙදාගෙන පාඩම් කරනවා.
ඒ නිසා හැම විෂයයක් පිළිබඳව ම අවධානය යොමු වෙනවා.



මගේ දුව ඉගෙනුමට හරි ම උනන්දුයි.
ඒ නිසා දුවට හැම විෂයකට ම
හොඳ ලකුණු ලැබෙනවා.
හැම දේ ම කාලය බෙදා ගෙන
කරන නිසා රන්දිට
ගෙදර දොර
වැඩකටයුතුවලට
උදවු කරන්නත්
වෙලාව තියෙනවා.
සවසට මල් පැළවලට
වතුර දමන්නත් රන්දි
හරි ම ආසයි.





ඒ වගේමයි රන්දි දුව උදේටත්
හවසටත් බුදුන් වඳින්න
අමතක කරන්නේ නැහැ.
රෑ නින්දට පෙර සිත නිවන
මෛත්‍රී භාවනාව කරන්නටත්
ඇය පුරුදු වෙලා ඉන්නේ.
ඒ නිසා ඇයට පාඩම්
හොඳට මතක තියෙනවා.

පාසලට ඒමට පෙර මටයි තාත්තාටයි වඳින්න රන්දි පුරුදුවෙලා ඉන්නේ.
ඇය නින්දට යන්නෙත් අම්මාටයි තාත්තාටයි වැඳලා.

ගුරුමෑණියක ලෙස ඔබතුමිය ලබා දෙන අවවාද රන්දි ගෞරවයෙන් පිළිපදිනවා. ඇය දහම් පාසලෙනුත් හොඳ ගුණදම් එකතු කරගන්නවා.
දෙමාපියෝ හැටියට අපිත් දුවට පාසලේ වැඩවලට මෙන් ම අනෙක් වැඩවලටත් උදවු කරනවා.

දුව හොඳ ළමයෙක් වෙලා අනාගතය සාර්ථක කර ගනීවි යන බලාපොරොත්තුව තියෙන නිසා රන්දිගේ තාත්තාත් මමත් හරි ම සතුටින් කල් ගෙවන්නේ. අපේ දුව වගේ අනෙක් දූ පුතුණුත් යහපත් දින චරියාවකට අනුව ජීවිතය ගොඩනගා ගැනීමට යොමු වනු ඇතැයි මම බලාපොරොත්තු වෙනවා."

## පැවරුම

- රන්දි දුව දවස ගත කරන ආකාරය ලියන්න.

# 08 සුද්ධෝදන රජතුමා

කිඹුල්වත් පුර අග රජු සුද්ධෝදන රජතුමා ය.

එතුමා රූප සම්පත්තියෙන් මෙන් ම ශූර, වීර බවින් සැමට ම වඩා උසස්.

සුද්ධෝදන මහ රජතුමාගේ අග බිසව මහාමායා දේවියයි. එතුමිය රූමත් හා ගුණවත් බවින් යුක්තයි.

රජතුමා දැහැමින් හා කරුණාවෙන් රට පාලනය කළා. එතුමා නිතර සක්විති රජකමට සුදුසු පුතකු ලැබේවා! යි ප්‍රාර්ථනා කළා.

රජතුමා, බෝසත් කුමරු උපන් බව දැනගත් පසු රට වැසියා සමග එක්ව ප්‍රීති ඝෝෂා පැවැත්වූවා. සිදුහත් කුමරුට අවශ්‍ය සියලු සැප පහසුකම් හා ආරක්ෂාව නිතරම සැපයීමට කටයුතු කළා.

සුදුසු කාලයේ දී කුමරුට ශිල්ප ලබා දුන්නා. තම පුතා තමාට වඩා උසස්, දැහැමි හා බලවත් පාලකයකු විය යුතු යැයි රජතුමා නිතර ම කල්පනා කළා. රජතුමා සුදුසු කල යුව රජකම සිදුහත් කුමරුට ලබා දුන්නා.

තම පුතාට සැපවත් ජීවිතයක් ලබා දීමට කැප වුණා. රම්‍ය, සුරම්‍ය හා සුභ යනුවෙන් මාලිගා තුනක් කුමරු වෙනුවෙන් සාදා දුන්නා.
සුදුසු කාලයේ දී යසෝදරා කුමරිය සිදුහත් කුමරුට සරණ පාවා දුන්නා.
යසෝදරාවට තමාගේ ම දියණියක සේ සැලකුවා. පුංචි රාහුල කුමාරයාට ඉතාමත් ආදරය කළ සීයා කෙනෙක් වූවා.

සිදුහත් කුමරු තාපස වෙස් ගෙන දුෂ්කර ක්‍රියා කරන බව ආරංචි වුණා. එසේ වුව ද රජුගේ දරු සෙනෙහසේ කිසිදු අඩුවක් වූයේ නැහැ.

කුමාරයා බුද්ධත්වයට පත් වී තම නිවසට වඩින තුරු සුද්ධෝදන රජතුමා ආශාවෙන් බලා සිටියා. බුදුරජාණන් වහන්සේ රජගහනුවර වේලුවනාරාමයේ වැඩ වෙසෙන බව සුද්ධෝදන රජතුමාට ආරංචි වුණා.

"මගේ පුතණුවන් කිඹුල්වත් පුරයට වැඩම කරවීමට කාලයයි මේ," රජතුමා කල්පනා කළා. "මට මගේ පුතා දකින්න ආසයි. බුදුරජාණන් වහන්සේ වැඩම කරවාගෙන එන්න,"
යනුවෙන් ඇමැතිවරුන්ට කීවා.

ඇමැතිවරයෙක් හා දහසක් පිරිස පිටත් කර යැව්වා.

මේ ආකාරයට නව වතාවක් කණ්ඩායම් නවයක් පිටත් කළා.

එසේ ගිය කිසිවෙක් ආපසු ආවේ නැහැ. ඒ හැමෝ ම බුදුරජාණන් වහන්සේ ළඟ මහණ වුණා.

රජතුමාගේ ඉල්ලීම ඉටු වුණේ නැහැ. රජතුමාට දුක හිතුණා. කාළුදායි ඇමැතිට කතා කළා.
"බුදුරජාණන් වහන්සේ වැඩම කරවාගෙන එන්න ඔබට පුළුවන්ද?'යි විමසුවා.
"රජතුමනි, පැවිදි වෙන්න මට අවසර දෙන්න.
මම බුදුරජාණන් වහන්සේ වැඩම කරවාගෙන එන්නම්,"
කාළුදායි ඇමැති කිවුවා.
රජතුමා එයට කැමැති වුණා.

කාළුදායි ඇමැති දහසක් පිරිස සමග පිටත් වුණා.
බුදුරජාණන් වහන්සේ හමු වී බණ ඇසුවා; පැවිදි වුණා.
බුදුරජාණන් වහන්සේට කිඹුල්වත් පුරයට වඩින ලෙස ආරාධනා කළා.

බුදුරජාණන් වහන්සේ පිරිස සමග කිඹුල්වත් පුරට වැඩම කළා.
මානයෙන් අධික ශාක්‍ය වංශික වැඩිහිටියෝ බුදුරජාණන් වහන්සේට වැන්දේ නැහැ. කුඩා දරුවන් ලවා වැන්දෙව්වා.

ශාක්‍යයන්ගේ මානය බිඳීමට බුදුරජාණන් වහන්සේ යමාමහ පෙළහැර පෑවා.

"පුතුනි, මේ මගේ තෙවන වැඳුම,"යි කියා
සුද්ධෝදන රජතුමා බුදුරජාණන් වහන්සේට වැන්දා.



බුදුරජාණන් වහන්සේ ශාක්‍යයන්ට ධර්මය දේශනා කළා.
බණ ඇසූ රජතුමා සතුටු වුණා.

මානය දුරුකර ගත් ශාක්‍යයෝ බුදුරජාණන් වහන්සේට වැන්දා.
ධර්මය අවබෝධ කර ගත්තා; සමහරු පැවිදි වුණා.
ශාක්‍යයෝ බුදුරජාණන් වහන්සේට නිග්‍රෝධාරාමය සාදවා පූජා කළා.
පසු කාලයේ දී සුද්ධෝදන රජතුමා බුදු බණ අසා රහත් වුණා.

## පුහුණුවට

1. පාඩමේ සිත් ගත් අවස්ථාවක් චිත්‍රයට නගන්න.

# 09

# විශාඛා මහා උපාසිකාව

භද්දිය නුවර ධනංජය සිටුතුමාගේ දියණිය විශාඛා කුමරියයි. ඇය කුඩා කල සිට ම අම්මාත් තාත්තාත් සමග පන්සලට යන්නට පුරුදු වෙලා හිටියා.



ඇය බුදුරජාණන් වහන්සේගෙන් බණ අසා අවුරුදු හතේ දී සෝවාන් වුණා; කුඩා කල සිටම හරිම සංවරයි. දනට පිනට ලැදියි. බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ සංඝ රත්නයට සැදැහැ සිතින් දන් දුන්නා.

විශාඛා කුමරිය විවාහ වුණේ සැවැත් නුවර මිගාර සිටුවරයාගේ පුතා සමගයි. ඔහුගේ නම පූර්ණවර්ධනයි.
ඒ අය බුදු දහම ගැන වැරැදි අවබෝධයකින් හිටියා.

ඒ අය දන් දුන්නේ නිගණ්ඨයන්ට. නිගණ්ඨයන්ගේ නොමනා හැසිරීම් දැක විශාඛා කලකිරුණා. සිතට ලොකු වේදනාවක් දැණුනා.

ඈය මිගාර පවුලේ අයට බුදුරජාණන් වහන්සේ ගැන කියා දුන්නා.
ඒ අය කැමැති කරවාගෙන බුදුරජාණන් වහන්සේ ඇතුළු මහා සංඝ රත්නයට දානයක් පිළියෙල කළා.

දානමය පින්කම දවසේ බණ අහලා මිගාර නිවසේ හැම දෙනා ම තෙරුවන් සරණ ගියා. මෙතෙක් බුදු දහම කෙරෙහි පැවති වැරැදි අවබෝධය නැතිවුණා.

මිගාර සිටුතුමා තමා සුමගට යොමු කළ විශාඛා සිටු දුවට එදා පටන් මවක මෙන් සැලකුවා. ඒ නිසා ඈය "මිගාර මාතා" නමින් ප්‍රසිද්ධ වුණා.

විශාඛා සිටු කුමරියට පියාගෙන් ලැබුණු ඉතා වටිනා ආභරණයක් තිබුණා.
ඒ රත්තරන් සහ මැණික්වලින් සාදා තිබූ මේල පලඳනාවයි.
ඈය ඒ මිලට සරිලන ධනය වියදම් කොට, පන්සලක් සාදා පූජා කළා.

ඒ පන්සල පූර්වාරාමයයි. එය මිගාර මාතු ප්‍රාසාදය නමින් ද හැඳින්වෙනවා.



විශාඛා මහා උපාසිකාව උදේ සවස පන්සලට ගියා. ස්වාමීන් වහන්සේලාගේ ඕනෑ එපාකම් විමසා බලා ඒවා ඉටු කළා. ඒ නිසා ම බුදු සසුනේ අග්‍ර දායිකා තනතුර ලබා ගැනීමට එතුමිය වාසනාවන්ත වුණා.

## පැවරුම

පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.

1. විශාඛා කුමරියගේ පියාගේ නම ලියන්න.
2. විශාඛා කුමරිය සෝවාන් වූයේ වයස අවුරුදු කීයේ දී ද?
3. ඇය විවාහ වූයේ කවුරුන් සමග ද?
4. විශාඛා උපාසිකාව සෑදවූ ආරාමයේ නම ලියන්න.
5. බුදු සසුනේ ඇයට ලැබුණු තනතුර කුමක් ද?

# 10 සංඝමිත්තා තෙරණින් වහන්සේ

සංඝමිත්තා රහත් තෙරණිය මිහිඳු මහ රහතන් වහන්සේගේ නැගණියයි, ධර්මාශෝක මහ රජතුමාගේ දියණියයි.

ලක්දිව භික්ෂුණී පැවිද්ද ඇති කිරීම සඳහා සංඝමිත්තා තෙරණිය ලංකාවට වැඩම කළා.



බුදුරජාණන් වහන්සේ බුදු වන අවස්ථාවේ දී සෙවණ දුන්නේ ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ ය. එහි දක්ෂිණ ශාඛාව ලක්දිවට වැඩම කරවීමට ධර්මාශෝක රජතුමා කටයුතු කළා.

සංඝමිත්තා තෙරණිය ජයශ්‍රී මහා බෝධීන් වහන්සේගේ දක්ෂිණ ශාඛාව රන් පාත්‍රයක රෝපණය කරවා මෙරටට වැඩම කළා.

දේවානම්පිය තිස්ස රජතුමා සංඝමිත්තා තෙරණිය පිළිගැනීමට දඹකොළපටුන වරායට ගියා.

ජය ශ්‍රී මහා බෝධි ශාඛාව රැගත් නැව වරායට ළඟා වූවා.

රජතුමා තමාගේ කරවටක් දක්වා දියට බැස්සා. බෝධි ශාඛාව සහිත රන් පාත්‍රය මහත් ගෞරවයෙන් පිළිගත්තා.

අලංකාර මණ්ඩපයක බෝධීන් වහන්සේ සහිත රන් පාත්‍රය වඩා හිඳවූවා. තුන් දිනක් ම මහත් උත්සව පැවැත්වූවා.

විසිතුරු ලෙස සැරසූ අලංකාර රථයකින් ශ්‍රී මහා බෝධීන් වහන්සේ අනුරාධපුරයට වැඩම කර වූවා. මග දිගට පූජා උත්සව පැවැත්වූවා.

එදින උඳුවප් පුර පසළොස්වක පොහොය දිනයයි. මහමෙවුනා උයනේ ජය සිරි මහා බෝධි ශාඛාව රෝපණය කළා.

අනුරාධපුරයේ උඩ මළුවේ ජය සිරි මහා බෝ හාමුදුරුවෝ වැඩ සිටිනවා. එය අපේ පූජනීය වස්තුවකි.

සංඝමිත්තා තෙරණින් වහන්සේ නිසා ලංකාවේ කාන්තාවන්ට භික්ෂුණී පැවිද්ද ලැබුණා.

සංඝමිත්තා රහත් තෙරණින් වහන්සේ අපි සැම දා ගෞරවයෙන් සිහිපත් කරමු.

## ක්‍රියාකාරකම

වරහන් තුළ තිබෙන වචන යොදා හිස්තැන් පුරවන්න.

1. ධර්මාශෝක රජතුමාගේ දියණියගේ නම .................. ය.
2. සංඝමිත්තා රහත් තෙරණිය ශ්‍රී මහා බෝධිය මෙරටට .................. කළා.
3. දේවානම්පිය තිස්ස රජතුමා .................. පටුන වරායට ගියා.
4. ශ්‍රී මහා බෝධි ශාඛාව රෝපණය කළේ .................. උයනේ ය.
5. .................. පුර පසළොස්වක පොහොය දින ශ්‍රී මහා බෝධි ශාඛාව රෝපණය කළා.

(මහමෙවුනා, සංඝමිත්තා, දඹකොළ, උඳුවප්, වැඩම)

# 11 තිත්තිර ජාතකය



එකමත් එක කාලෙක
හිමාල වනයෙහි මැද
වටුවකු වඳුරකු ද සමග
ඇත් රජ්ජෙක් එහි විය

වැඩිහිටියන් හට ගරු
කරන්න සිතූ සුමිතුරු
සෙවුවා තිදෙනා අතරින්
කවුරු ද වැඩිහිටි ගරු

ළඟ තිබූ මහ නුග ගස
පළමුව දුටු මිතුර ව
සොයා බලති මේ තිදෙන ම
ගරු කෙරුමට සැම දින

කුඩා කාලෙ මම කැලේ
ඒ මේ අත දුව ගියේ
එවිට පුංචි නුග පැලේ
ගැවුණි මගෙ පොඩි බඩේ

නුග ගස පොඩි පැළයකි
මම ද වඳුරු පැටියෙකි
බිම හිඳ නුග දලු කෑවා
මතකයි මට හොඳ හැටි

වටු කුරුල්ල තිත්තිර
අසා සිටිය සැම දෙය
වඳුරට සහ ඇත් රජුහට
පැවසුව තම අදහස

වෙන නුග ගසකින් මෙමා
නුග ගෙඩියක් කා එදා
කෑ දේ පහ කළ නිසා
මේ නුග ගස පැළ වුණා

වටුවා කී ඒ බස
අසා අනෙක් දෙදෙන ම
තිත්තිර වැඩිහිටි ලෙස
සැලකුව ඒ දින සිට

තිත්තිර වැඩිහිටි ගරු
නැමැද බැතින් නිරතුරු
සතුටින් මේ සුමිතුරු
සිටියා මිය යන තුරු



## ක්‍රියාකාරකම

1. තිත්තිර ජාතකය මතකයෙන් කියන්න.

2. ඉහත විරිදු පන්තිය ඇසුරින් සිත්ගත් අවස්ථාවක් චිත්‍රයට නගන්න.

# 12 සැදැහැ සිතින් බෝධි පූජාව කරමු

"අද මේ දරුවෝ බෝධීන් වහන්සේ ළඟට රැස් වුණේ ඇයි කියලා දන්නවා නේ ද?" ලොකු හාමුදුරුවෝ ඇහුවා.

"එහෙමයි හාමුදුරුවනේ, බෝධි පූජාව කරන හැටි ඉගෙන ගන්න," සුජාති උත්තර දුන්නා.



"උසස් ම නුවණට 'බෝධි' කියනවා. බුදුවීම කියන්නේ ඒ උසස් ම නුවණටයි. වෙසක් පුර පසළොස්වක දින ඇසතු

බෝ රුක මුල දී සිදුහත් බෝසත්තුමා බුද්ධත්වයට පත් වුණා. ලොකු හාමුදුරුවෝ කිවුවා.

බුදු වීමට සෙවණ දුන් ඇසතු බෝ රුක තමයි ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ. කළගුණ සැලකීමට බුදුරජාණන් වහන්සේ සතියක් ම බෝධීන් වහන්සේ දෙස ඇසි පිය නො හෙළා බලා සිටියා.

ඒ උතුම් බෝධීන් වහන්සේටයි අපි බෝධි පූජා පවත්වන්නේ. දැන් අපි බෝධි පූජාව කරන හැටි ඉගෙන ගනිමු.

හොඳින් පිරිසිදු වෙලා සුදු සංවර ඇඳුමින් සැරසිලා පන්සලට එන්න ඕන. සුවඳ මල්, පොල්තෙල්, පහන්තිර, හඳුන්කූරු, ගිලන්පස, ගිනිපෙට්ටියක් ආදි ද්‍රව්‍ය රැගෙන එන්න ඕන.

පන්සලට ඇවිත් බෝ මළුව, මල් ආසන ආදිය පිරිසිදු කර දැත් සෝදා ගත යුතුයි.

පෙරා ගත් පැන් කළයක් ගෙන බෝධීන් වහන්සේ නහවන්න.

පහන්, හඳුන්කූරු පත්තු කරලා, මල් වට්ටි, දැහැත්, ගිලන්පස තැන්පත් කරලා, බෝධීන් වහන්සේට වන්දනා කරන්න.

බෝධි පූජාවෙන් පසුව පූජා ද්‍රව්‍ය ඉවත් කර මල් ආසන පිරිසිදු කිරීම හොඳ දෙයක්. බෝධි පූජාවට යොදා ගත් භාජන සෝදා නිසි තැන තැන්පත් කරන්න ඕනැ.

## පුහුණුවට

යස්ස මූලේ නිසින්නෝව - සබ්බාරි විජයං අකා
පත්තෝ සබ්බඤ්ඤුතං සත්ථා - වන්දේතං බෝධි පාදපං

### තේරුම

කිසියම් රුකක් මුල වැඩ හිඳිමින්, සියලු කෙලෙස් සතුරන් පරදවා බුදුරජාණන් වහන්සේ බුදු බවට පත් වූ සේක් ද ඒ බෝධි රාජයාණන් වහන්සේට මම නමස්කාර කරමි.

ඉමේ ඒතේ මහාබෝධි - ලෝක නාථේන පූජිතා
අහම්පි තේ නමස්සාමි - බෝධි රාජා නමත්ථු තේ

### තේරුම

මේ මහා බෝධි රාජයාණන් වහන්සේ, ලොවට පිහිට වූ බුදුරජාණන් වහන්සේ විසින් පුදන ලදි. බෝධි රාජයාණනි, මම ද ඔබ නමදිමි. මාගේ නමස්කාරය ඔබට වේවා.

# 13 පොත් පෙරහැර

ගුරුතුමී : අපි දෙවන ශ්‍රේණියේ දී පෙරහැරක් පැවැත්වූවා දූවලා පුතාලට මතක ද?

සිසුහු : ඔව්, අපට මතකයි, එදා මල් පෙරහැර හරිම ලස්සනයි.

සුමුදු : මම එදා පෙරහැරේ කොඩියක් අරන් ගියා.

ගුරුතුමී : වෙන කවුද කොඩි අරන් ගියේ?

සමීර : මම (සමීර අත ඉස්සුවා.)
සුබෝධ : මම තමයි බෙර ගැහුවේ.
පියුමි : මම මල් ගස අරන් ගියා.
රන්දික : මම තමයි කස කාරයා.
සිසුහු : අපට ගුරුතුමී කිවුවේ මල් අරන් යන්න කියලනේ, අපි මල් අරන් ගියා.

ගුරුතුමී : බොහෝම හොඳයි, අපේ මල් පෙරහැර ගැන හැම දෙනාට ම හොඳට මතකයි.
මේ සැරෙත් අපි පෙරහැරක් යමුද?

සිසුහු : ඔව්, අපි මල් පෙරහැරක් යමු.

ගුරුතුමී : නැහැ දරුවනේ, අපි පොත් පෙරහැරක් යමු.

සිසුහු : පොත් පෙරහැරක් ? කොහොම ද පොත් පෙරහැරක් යන්නෙ?

ගුරුතුමී : පෙරහැරේ අපි අරන් යන්නේ පොත්. පෙරහැරේ මුලින් ම "පුංචි අපේ පොත් පෙරහැර" කියලා ලියපු පුවරුව. ඊට පස්සේ හේවිසි කණ්ඩායම. ඊට පස්සෙ පොත් පෙරහැර. පොත් ගෙනියන්න ඕන හිස මත තියාගෙනයි. කවුරුත් හිස මතට පිරිසිදු සුදු ලේන්සුවක් දාගන්නව නම් බොහොම හොඳයි. ඊට පස්සෙ පේළියට ගමන් කරන්න ඕන.



පියුමි : පෙරහැර යන්නේ කොහාට ද?

ගුරුතුමී : අපේ පාසලේ පුස්තකාලයට, පන්ති පුස්තකාලයට. පොත් අඩු පාසලක හෝ පන්සලක පුස්තකාලයට යන්නත් අපට පුළුවන්.

සිසුහු : ඒක නම් හරි ම හොඳයි ගුරුතුමී. ඒත් අපි පොත් හොයා ගන්නේ කොහොම ද? අපට පොත් ගන්න සල්ලි ඕනනේ.

ගුරුතුමී : නෑ දරුවනේ, ඔයගොල්ලෝ අද ඉඳන් කියවන පොත් එකතු කරන්න. ඔයාලගේ අම්මා, තාත්තා, අයියා, අක්කා පාවිච්චි කළ පොත් ඒ අයගෙන් ඉල්ලා ගන්න. ඔයාලත් පාවිච්චි කළ, කියවන පොත් අරන් එන්න. කැමැති අය අලුත් පොත් දුන්නොත් ඒවත් ගේන්න.

සුබෝධ : ගුරුතුමී, අපේ ගෙදර පොත් ගොඩාක් තියෙනවා, මම ඒවා අරන් එන්නම්.

රොෂාන් : අපේ තාත්තට කියලා පොත් අරන් දෙන්න මට පුළුවන්.

සිසුහු : අපටත් පොත් ගේන්න පුළුවන්.

ගුරුතුමී : හැමෝම එහෙනම් පොත් අරන් එන්න. අපේ පාසලේ ගුරුවරු අපට උදවු කරයි. පොත් ලැබුණට පස්සේ ඒවා අපි පිළිවෙළකට වර්ග

කරමු. පන්තියේ ළමුන් සියලු දෙනාට ම ඒ පොත් භාර දීලා පෙරහැර සූදානම් කරමු.

## පුහුණුවට

පාසල් ඇඳුමින් සැරසුණු දරුවන්
දෑතින් පොත් ගෙන පෙරහැර යනවා
ගුරු මවු පියවරු දරුවන් සමගින්
හද පිරි සතුටින් පෙරහැර යනවා

දෙපස සිටින දෙගුරුන් සැම දෙනගේ
පෙරහැර දසුනින් සිත් පැහැදෙනවා
පෙරහැර බලමින් සතුටින් සැමදෙන
පුංචි ළමුන් හට අසිරි පතනවා

පෙරහැර යනවා
පොත් දන් දෙනවා
පින් රැස් වෙනවා
නුවණ වැඩෙනවා

# 14

# බොදු ගී

මල් සුගන්දේ දම් සුගන්දේ සිල් සුළං රැල් පාවෙලා
සම්බුදුන් සම්භාවනීයයි සාදු සාදු වන්දනා

මිහින්තලාවයි දහම් අමාවයි ශාන්ත අනුබුදු නාමයයි
කාට කාටත් මේ කියන්නේ ශාසනේ ඉතිහාසයයි
රත්නමාලී සෑ රදුන් මේ දෙව් බඹුන් පූජා ලබයි
මේ මහා ගල් මුල් කියන්නේ ඒ උතුම් අභිමානයයි

රැල් නගා හෝ ගා ගලන්නේ ජාතියේ ජය පානයයි
සිංහලේ වික්මන් කියන්නේ මේ පොළොන්නරු දේශයයි
දාගැබයි මහ මේසයයි තිල්වන් ගුවන් ගැබ යා වුණේ
ගල් කුළින් සිත්තම් වුණා දෝ මෙත් සිහිල් කරුණා ගුණේ

මහා රජුන් තුන් සිංහලේ මෙහෙමයි එදා දස්කම් කළේ
මේ උතුම් දහමින් තමා ලේ මස් පවා විස්කම් කළේ
ධීර වීරයි පූජනීයයි නෑ නිමක් ගුණ ගායනේ
සිව් මහා දෙවිඳුන් රකීවා මේ අපේ බුදු ශාසනේ

| | | |
|---|---|---|
| පද රචනය | : | නිහාල් ඒ. ජයසිංහ මහතා |
| සංගීතය | : | පී.එල්.ඒ. සෝමපාල මහතා |
| ගායනය | : | මොහිදීන් බෙග් මහතා සහ<br>සුජාතා අත්තනායක මහත්මිය |

# 15 ඔසු පැළයක් සිටවමු

"බෙහෙත් පැළෑටි ගැන තොරතුරු අපි පුංචි කාලෙ ඉඳල ම හොඳින් දැනගෙන ඉන්න ඕනේ. ඒ නිසා බෙහෙත් පැළෑටි දැක බලාගෙන හඳුනාගැනීම හරි වැදගත්. අපේ පාසල ඉස්සරහ තියෙන වෙද මාමගේ ඔසු උයන බලන්න මම අවසර ලබා ගත්තා. එහෙනම් දූලා පුතාලා පරිස්සමෙන් යමු. වෙද මාමා කියන තොරතුරු හොඳට අහගෙන ඉගෙන ගන්න ඕනේ," ගුරුතුමී කීවා ය.

වෙද මාමාගේ ඔසු උයනේ ගුරුතුමිය සමග ඇවිදිමින් අපි ඔසු පැළ හඳුනාගත්තෙමු.

"ආ...දූලා පුතාලා අපේ ගෙවත්තේ ඇවිදලා බෙහෙත් පැළෑටි දැන හඳුනා ගත්තා ද?" වෙද මාමා ඇසුවේ ය.

"ඔව් වෙද මාමේ, අපි ගොඩක් බෙහෙත් පැළෑටි දැක්කා. ඒවායේ නම් සඳහන් කරලා තියෙන නිසා අපි ඒවා කියවලාත් බැලුවා," පබසරා කීවා ය.

"එහෙනම් දූලා පුතාලා මේ කොහොඹ ගහ යට බංකුවල ඉඳගනිමුකෝ.
මං ඖෂධ පැළෑටි ගැන තොරතුරු ටිකක් කියා දෙන්නම්,"
වෙද මාමා කීවේ ය.



"මේ කොහොඹ ගහ යට ඇඟට හරි ම සිසිලසක්, සනීපයක් දනෙනවා නේද?" වෙද මාමා ඇසුවේ ය. "කොහොඹ කියන්නෙත් බෙහෙත් ගහක් පුතේ. ඒ වගේම පුතාලා මේ බෙහෙත් පැළෑටිය අඳුනනවා ද?"

"ඔව්, අපේ අම්මාගේ අත හුමාලයට පිච්චුණා. ඒ වෙලාවේ කෝමාරිකාවල මදය පිච්චුණ තැන ගෑවා. තුවාලය දින දෙක තුනකින් හොඳ වුණා," දිනෙත් කීවේ ය.

"ඔව්, පුතේ පිලිස්සුම් තුවාලවලට විතරක් නෙවෙයි, ඕනෑ ම තුවාලයක් සුව කිරීමේ ගුණයක් කෝමාරිකාවල තියෙනවා. ඒ විතරක් නෙවෙයි රූප සෝබාව රැකගන්නත් කෝමාරිකා දිව්‍ය ඖෂධයක්."

"අර එහා පැත්තේ හීන් පුංචි කොළ තියෙන්නේ, ඒ නෙල්ලි ගහක්. නෙල්ලි ගෙඩියක් දිනකට ආහාරයට ගන්නවා නම් ලෙඩ රෝග බොහෝමයක් වළක්වා ගන්න පුළුවන්. නෙල්ලි විටමින් සී බහුල පලතුරක්.

මේ කහ පාට මල් පිපුණු ගස රණවරා. තම්බපු රණවරා මල්, බෙලිමල් වතුර බීමට හොඳ ඔසුවක්. දැන් කාලේ තියෙන රසකාරක දැමූ බීමවලට වඩා මේ ඔසුපැන් ගුණදායකයි.

දුවේ, පුතේ මේ ඔසු උයනේ අරළු, තිප්පිලි, ආඩතෝඩා, එරබදු, කරපිංචා, හාතාවාරිය, ඉරමුසු, කටුවැල්බටු වැනි ඖෂධ වර්ග හුඟක් තියෙනවා.

අද මම පුතාලට බොන්න බෙලි මල් පානයක් සූදානම් කළා. හැමෝම හකුරු කෑල්ලක් එක්ක ඔසුපැන් කෝප්පයක් බොන්න."



"මම බෙහෙත් පැළෑටි පැළ කරලා තියෙනවා. හැම කෙනෙක්ම ඔසු පැළයක් අරගෙන ගිහිල්ලා ගුරුතුමී එක්ක ඔසු උයනක් පාසලෙත් හදාගන්න.
බෙහෙතක් හොයාගෙන එන කෙනකුට ඒවා ලබා දෙන එක මහා ලොකු පින්කමක්. හැමෝම කැමැතියි නීරෝගීව ඉන්න. අපේ බුදුරජාණන් වහන්සේත් දේශනා කරලා තියෙනවානේ **උතුම් ම ලාභය නීරෝගීකම කියලා.**"

වෙද මාමා දැනමුතු කම් බොහොමයක් කියා දුන්නේ ය.

මෙසේ දැනුම ලබාදීම ගැන ගුරුතුමී වෙද මාමාට ස්තුති කළා ය. වෙද මාමාට නිදුක්, නීරෝගී, දීර්ඝායුෂ ප්‍රාර්ථනා කළා ය. අපි වෙද මාමාට වැන්දෙමු. වෙද මාමා අපට නිදුක් නීරෝගී සුවය ප්‍රාර්ථනා කළ අතර "තෙරුවන් සරණයි" කියා ආශීර්වාද කළේ ය.

අපි ඔසු පැළ රැගෙන පාසල වෙත පිය නැගුවෙමු.

## පැවරුම

1. පාඩමේ සඳහන් ඔසු පැළවල නම් ලැයිස්තුවක් ලියන්න.

2. ඔසු පැළයක් සිටුවා එය රැක ගන්න.

# 16 අපේ පන්සලේ ශ්‍රමදානය

මේ වෙසක් මාසය. වෙසක් පෝය ළඟයි. අපේ පන්තියේ සීල-සමාදාන වැඩසටහන විහාරස්ථානයේ පවත්වන්න හැමෝම යෝජනා කළා.

"ඒ දවසට කලින් විහාරස්ථානය හා අවට පරිසරය පිරිසිදු කරන්න ඕනේ. ඒ සඳහා ශ්‍රමදානයක් පවත්වන්න අපි බලාපොරොත්තු වෙනවා," පන්තිභාර ගුරුතුමා කීවේ ය.

"ඒක හොඳයි, අපි හරි ම ආසයි පන්සල් වත්ත පිරිසිදු කරන්න," දිනිති කීවා ය.

"ඔව්, දූලා පුතාලා විතරක් නෙවෙයි අම්මලා තාත්තලාත් අපේ ශ්‍රමදානයට එකතු කර ගනිමු. අපි මේ ශ්‍රමදානය කණ්ඩායම් බෙදිලා, වැඩ බෙදාගෙන හොඳින් කරමු," ගුරුතුමා යෝජනා කළේ ය.

"ඔව්, පන්සලට යන පාර දෙපැත්ත ගොඩක් අපිරිසිදු වෙලා. වල් පැළෑටි වැවිලා, කාණුවල කුණු හිරවෙලා, ඒ කොටස සුද්ද කරන්න තාත්තලාට කියමු," නිපුන් කීවේ ය.

"පන්සල් වත්තේ ගස්වල අතු පාහින්න ඕනේ කියල උපාසක මාමා මතක් කළා. ගස්වල අතු පාහින වැඩෙත් තාත්තලාටමයි පවරන්න ඕනේ," ගුරුතුමා කීවේ ය.



"ශ්‍රමදානයට එන විට අවශ්‍ය උපකරණ අරගෙන එන්න දෙමවුපියන්ට කියන්න. පන්සල් වත්ත පිරිසිදු කිරීමේ කටයුතු අම්මලාට පවරමු.
මල් ගස්වල අනවශ්‍ය අතු කපලා, මල් පෝච්චිවල පස් බුරුල් කරලා, වල් පැළෑටි ගලවන්න ඕනේ. ගස්වලට ගොම පොහොරත් දමමු," ගුරුතුමා පැවසුවේ ය.

"අපට පුළුවන් විහාර මළුවත් බෝමළුවත් අමදින්න," රන්දි කීවා ය.

"ඔව් දුවේ, ඒ වැඩවලට අපි වැඩිහිටි අයත් එක්ක එකතු වෙමු," ගුරුතුමා කීවේ ය.

"තරණී දුවගෙ කණ්ඩායමට පුළුවන් මල් ආසන සෝදන්න. ඒ එක්කම මල්වට්ටි, ගිලන්පස භාජනත් සෝදා පිරිසිදු කරන්න.

ධර්ම ශාලාවේ මකුළු දැල් පිසදමා, බිම සෝදා පිරිසිදු කරන්න දිනිති දුවගේ අම්මා ඇතුළු කණ්ඩායමට භාර දෙමු."

ශ්‍රමදාන දිනය උදා විය. මවුපියෝ ශ්‍රමදානයට අවශ්‍ය උපකරණ ද රැගෙන පන්සලට එක්වූහ.

ගුරුතුමා කළ යුතු වැඩ කටයුතු පිළිබඳව මවුපියන් දැනුම්වත් කළේ ය.

එක් එක් කණ්ඩායම බෙදා ගත් පරිදි වැඩවල නිරත විය.



ශ්‍රමදානය අවසානයේ හැම දෙනා ම විහාර බිමේ පිරිසිදු බව දැක සතුටු වූහ.

එතැනට වැඩම කළ ලොකු හාමුදුරුවන් වහන්සේ "බොහෝම හොඳ ශ්‍රමදානයක්. මේ පිරිස ක්‍රමානුකූලව වැඩ බෙදාගෙන කරන හැටි මං බලාගෙන හිටියේ. යම් කටයුත්තක් කලින් සංවිධානය කළා ම එය හොඳින් කරන්න පුළුවන්. මේ දරුවොත් හොඳින් කඩිසර ව වැඩ කළා. ඒක අගය කළ යුතුයි. දැන් පන්සල හරි ලස්සනයි. අද දින ඔබ සැම එක්වී කළ ශ්‍රමදානය මහත් පින්කමක්," යනුවෙන් සඳහන් කර අපට පුණ්‍යානුමෝදනා කළහ.

## ක්‍රියාකාරකම

1. පන්සල පිරිසිදු කිරීමේ ශ්‍රමදානයේ දී සිදු කළ කටයුතු තුනක් ලියන්න.

2. ගෙදර පරිසරය පිරිසිදුවට පවත්වා ගැනීමට ඔබට කළ හැකි දේවල් දෙකක් ලියන්න.

# 17 වඩමු ගුණ දම්

බුද්ධ ධර්ම විෂය භාර හාමුදුරුවන් වහන්සේ පන්තියට වැඩම කළා.

ළමයි සියලු දෙනා ම නැගිට හාමුදුරුවන්ට වැන්දා.

"තෙරුවන් සරණයි. අපි අද කතා කරන්නේ හොඳ ගුණ දම් ගැන බව මේ දරුවෝ දන්නවා නේ ද?" හාමුදුරුවෝ ඇහුවා.

"එහෙමයි අපේ හාමුදුරුවනේ," කමල් කිවුවා.

"අපේ හාමුදුරුවනේ, මම කතා කරන්නේ ලද දෙයින් සතුටු වීම ගැන," නාලක කිවුවා.

"හොඳයි දරුවනේ, අපි නාලකගේ කතාව අහමු."

නාලක කතාව පටන් ගත්තා.

"මම කලින් ඉගෙන ගත්ත පාසලේ එක යාළුවෙක් හිටියා. එයාගේ නම ජානක. පන්තියේ ඉන්න අනෙක් ළමයින්ට වාගේ එයාට ලස්සන පොත් බෑගයක්, සපත්තු දෙකක්, වතුර බෝතලයක් තිබුණේ නෑ. පාට පාට ලස්සන පැන්සල් තිබුණෙත් නෑ.

"ඒ වුණාට ජානක හිටියේ හරි ම සතුටෙන්. එයාට ලස්සනට අකුරු ලියන්න පුළුවන්. ගණන් හදන්නත් පුළුවන්. ගුරුතුමීත් ජානකට හුඟක් ආදරෙයි.

"මට තව යාළුවෙක් හිටියා. එයාගේ නම නඳුන්. නඳුන්ට ලස්සන බෑග්, සපත්තු තිබුණා. එයාට ලස්සන පැන්සල් ගොඩක් තිබුණා. ඒත් නඳුන් තව තවත් දේවල් ඉල්ලලා අම්මාට තාත්තාට කරදර කළා.

"දවසක් ජානක පන්තියේ දී පුංචි පැන්සල් කෑල්ලකින් ලියනවා දැකලා නඳුන්ට පුදුම හිතුණා. 'ඔයා ලස්සන දේවල්වලට ආස නැද්ද?' නඳුන් ජානකගෙන් ඇහුවා."

"මගේ අම්මයි තාත්තයි හුඟක් දුප්පත්. තාත්තාගේ රස්සාවෙන් ලැබෙන මුදලින් අපි ජීවත් වෙන්නේ අමාරුවෙන්. ලස්සන දේවල්, වටිනා දේවල් ඉල්ලලා මම අම්මට තාත්තට කවදාවත් කරදර කරන්නේ නෑ. ලැබෙන දෙයින් මම සතුටු වෙනවා,' ජානක කිවුවා."



"මෙන්න ඔයාට ලස්සන පැන්සලක්. මමත් ඔයා වාගේ ම හිතලා ලද දෙයින් සතුටු වෙනවා."
නඳුන් ජානකට කිවුවා.

අපිත් ජානක වගේ ලද දෙයින් සතුටුවීමට පුරුදු වෙමු. නාලක කතාව අවසාන කළා.

"බොහොම හොඳ කතාවක්," හාමුදුරුවෝ කිවුවා.

✶ ✶ ✶

"හොඳ යාළුවෙක් හඳුනා ගන්නෙ කොහොම ද කියන එක ගැනයි මම කතා කරන්නේ" තුෂාර කිවුවා.

"මම අපේ සීයාගෙන් ඒ ගැන විස්තර අහගත්තා. සීයා මෙහෙම කිවුවා."

"හොඳ යාළුවා තමන්ගේ මිතුරාට උපකාර කරනවා. මිතුරා වැරැදි දෙයක් කළොත් ඒ වැරැද්ද පෙන්වලා දෙනවා. වැරැදි වැඩවලින් මිතුරා මුදවා ගන්නවා.

"හොඳ යාළුවා සැපේ දීත් දුකේ දීත් මිතුරා ළඟ ම ඉන්නවා, කරන හොඳ වැඩ අගය කරනවා, දියුණුවට උපකාර කරනවා, ජයග්‍රහණය දැක සතුටු වෙනවා, විපතක් වූ විට දුක් වෙනවා," සීයා කිවුවා.

"මේ වගේ අපිත් හොඳ යාළුවන් වෙන්න හිතා ගනිමු," කතාව අවසන් කරමින් තුෂාර කිවුවා.

✶ ✶ ✶

"මම කතා කරන්නේ ඇත්ත කීම ගැන," සංඛ කිව්වා.

"හොඳයි දරුවනේ, අපි සංඛගේ කතාව අහමු."

"ඇත්ත කතා කිරීම ඉතා හොඳ දෙයක්. ඇත්ත කතා කරන අයට හැමෝ ම කැමැතියි. හැමෝ ම ආදරය කරනවා. ඇත්ත කතා කරන කෙනා තමන්ගේ අතින් වරදක් වුවත් සඟවන්නේ නැහැ. ඇත්ත කීම උසස් ගුණයක්."

"බොරු නොකියන ලෙසත් ඇත්ත කතා කරන ලෙසත් බුදුරජාණන් වහන්සේ අපට දේශනා කර තියෙනවා."

"මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි කියා අපි පොරොන්දු වෙන්නෙත් බොරු කීමෙන් වැළකෙන බවයි. ඒ නිසා අපි නිතර ම ඇත්ත කතා කිරීමට පුරුදු වෙමු," සංඛ කතාව අවසන් කළා.

✶ ✶ ✶

"අපේ හාමුදුරුවනේ, මගේ මාතෘකාව සුභාෂිත වචන කතා කිරීම ගැන. මම ඒ වචන ලියා ගෙන ආවා" සුජානි කිව්වා.

"බොහෝ ම හොඳයි, හැමෝට ම ඇහෙන්න ඒ වචන කියවන්න." හාමුදුරුවෝ කිව්වා.

පන්සිල් රකිමු

තෙරුවන් නමදිමු

ලද දෙයින් සතුටු වෙමු

කීකරු වෙමු

ඉගෙන ගනිමු

වැඩිහිටියන්ට සලකමු

සත්‍ය වචන කියමු

උදවු කරමු

හොඳ යහළුවන් වෙමු

සමාවෙන්න

බොහෝ ම
ස්තුතියි

"මේ සුභාෂිත වචන අපි කතාබහේ දී යොදා ගන්න ඕන." සුජානි කතාව අවසන් කළා.

"මේ සුභාෂිත වචන කාඩ්පත්වල ලියලා පන්තියේ ප්‍රදර්ශනය කරන්න. අද අපි බොහොම හොඳ කතා හතරක් ඇහුවා. මේ කතාවලින් කියැවෙන කරුණු පිළිපදිමින් මේ දරුවෝ හොඳ අය වෙන්න ඕන," හාමුදුරුවෝ කිවුවා.

"තෙරුවන් සරණයි දරුවනේ."

"තෙරුවන් සරණයි අපේ හාමුදුරුවනේ."

## ක්‍රියාකාරකම

1. සුභාෂිත වචන සහිත කාඩ්පත්වලින් සුභාෂිත ගසක් පන්තියේ දී නිර්මාණය කරන්න.

# 18

# මේ අපේ නිවහනයි



මාපිය සමගිය උතුරයි
දරු කැල සෙනෙහස වපුරයි
එක පොකුණක පිපුණු නෙළුම්
මල් ගොමුවක සිරි පතුරයි

සමගියි දරුවන් සැම දෙන
අහසේ තරු කැට විලසින
මවට මෙන්ම පියාණන්ට
සෙනෙහස දක්වති සැම දින

කුරුලු කැදැල්ලක පවතින
සමගිය නිවසෙහි උතුරන
අයුරු බලා වටපිට අය
තුති පැසසුම් දෙති තැන තැන

සාමය සැනසුම සපිරුණ
ලස්සන පොඩි මගෙ නිවහන
පිරිසුදුවට තබා ගන්න
අපි වෙහෙසෙමු ලෙස අපමණ

මිදුලේ මල් ගස් වවලා
අකුලේ වල් ගස් උගලා
වත්ත පිටිය පිරිසුදුවට
තබා ගනිමු එකතුවෙලා

අමුණා ඇති එක නූලක
අගනා මුතු කැට අහුරක
සිරි පාමින් එකමුතු වී
අපි හිඳිනෙමු එක නිවසක

අපේ සොඳුරු පොඩි නිවසේ
සාමය සොම්නස ගැවසේ
හැමගේ සෙනෙහස ලබමින්
අපි මෙහි පසුවෙමු රිසිසේ

ආදරයයි කරුණාවයි
නිවස පුරා දෝරෙ ගලයි
අපේ ඇල්ම බැල්ම ලැබෙන
පරිසරයත් සිරියාවයි

## ක්‍රියාකාරකම

1. පරිසරයේ අලංකාරය රැක ගැනීමට කළ හැකි දේවල් තුනක් ලියන්න.

## පැවරුම

- කවි පන්තිය පාඩම් කරගෙන තාලයට ගායනා කරන්න.

# 19 ගත හැකි දෙය වැඩට අහක නොදමනු කිසි විට

මිනුදි, සෙතුමිගේ හොඳ ම යෙහෙළියයි. දවසක් මිනුදි සෙතුමිගේ ගෙදර ගියා.
දෙදෙනා සෙල්ලම් බත් ඉවීමට පොල්කටු සෙවුවා. එවිට සෙතුමිගේ අම්මා පොල්කටු ගොඩ පෙන්නුවා.

මිනුදි : මේ තියෙන්නෙ පොල්කටු ගොඩාක්.

සෙතුමි : අපේ ගෙදර පොල්කටුවලට කරන්න දෙයක් නෑ. අම්මා කියන්නේ ප්‍රයෝජනයක් ගත හැකි කෙනකුට මේවා දෙමු කියලා.

මිනුදි : අපේ ගෙදරට එහා ගෙදර මාමා පොල්කටුවලින් විසිතුරු බඩු හදලා විකුණනවා. අපි දුන්නොත් මාමා මේ පොල්කටුවලින් ප්‍රයෝජන ගනීවි.

සෙතුමි : එහෙනම් අපේ අම්මත් එක්ක කතා කරලා මේ පොල්කටු ටික ඒ මාමාට දෙමු.

සෙතුමිත් මිනුදිත් සතුටින් මේ ගැන අම්මාට කිවුවා.

අම්මා : ඔව් පුතේ, මම මේ පොල්කටු එකතු කළේ කාට හරි දෙන්න. අපට වැඩක් ගත නොහැකි දෙයක් තව කෙනකුට ප්‍රයෝජනවත් වෙන්න පුළුවන්. අපි ඒ නිසා මේවා ඒ මාමාට දෙමු.

පහත සඳහන් කවියෙන් කියවෙන්නේත් ඒ වගේ ම අදහසක් අපි ඒ කවිය කියවමු.

ගත හැකි දෙය වැඩට
අහක නොදමනු කිසි විට
වැඩ නැති දෙය නුඹට
දෙනුව ඉන් වැඩ ගන්න අය හට

**සිරිත් මල්දම**

(ඇම්. ඇල්. සිල්වා ගුරු මුහන්දිරම් මහතා)

**කවියේ තේරුම :-**

ප්‍රයෝජනයට ගත හැකි දෙයක් කිසි විටක අහක නොදමන්න. ප්‍රයෝජනවත් නොවන දෙය ඉවත නොදා එය ප්‍රයෝජනයට ගත හැකි අයකුට දෙන්න.

## පුහුණුවට

- තාලයට කවිය ගායනා කරන්න.

# 20

# රකිමු පර පණ

බුදු බණ අසමින් සිත සත පායේ
කුරු පණ කම් ඇර පිය ඒ පායේ
පර පණ නැසුවොත් කවර උපායේ
අපමණ දුක් දෙයි සතර අපායේ

(ලෝවැඩ සඟරාව - වීදාගම මෛත්‍රේය නාහිමි)

**කවියේ තේරුම :**

බුදු බණ අසමින් සිත සතුටු කර ගන්න. දුරු කළ යුතු පහත් වැඩ අත් හරින්න. කුමන ආකාරයකින් හෝ අනුන්ගේ ජීවිතය විනාශ කළ හොත් සතර අපායේ ඉපදී බොහෝ දුක් විඳින්න සිදු වෙනවා.



* පුරාණ කාලයේ සිට ම කවියෙන් බුදු බණ දේශනා කිරීමේ සිරිත පැවතුණා.
* කවියෙන් ලියපු බුදු බණ ඇතුළත් පොතක් තමයි ලෝවැඩ සඟරාව.
* කෝට්ටේ යුගයේ වැඩ සිටි වීදාගම මෛත්‍රේය නාහිමියෝ ලෝවැඩ සඟරාව ලිවුවා.
* සතුන් මැරීම, අනුන්ගේ ජීවිත විනාශ කිරීම විශාල පාපයක් බව එහි සඳහන් වෙනවා.
* අපගේ ජීවිත යහපත් කර ගැනීමට උදවු වන උපදෙස් රැසක් ලෝවැඩ සඟරාවේ ඇතුළත් වෙනවා.
* ලෝවැඩ සඟරාව නිතර කියවා එහි ඇතුළත් බුදු බණ අපි තේරුම් ගනිමු. ඒ අනුව අපගේ ජීවිත හැඩගස්වා ගැනීමට ඉගෙන ගනිමු.

## පුහුණුවට

- මෙම කවිය කට පාඩමින් ගායනා කරන්න.

# 21 සලාක දානය හෙට

"ලොකු දුවේ, හෙට 15 දා පන්සලට සලාක දානය පූජා කරන්න තියෙනවා." අත්තම්මා කීවා ය.
"ඔව්, අම්මේ මම දානයට අවශ්‍ය දේවල් සූදානම් කරලයි තියෙන්නේ." අම්මා කීවා ය.

ඇයි අත්තම්මේ සලාක දානය කියන්නේ?

අම්මාගේත් අත්තම්මාගේත් කතාව අසාගෙන සිටි චානක ඇසුවේය.

පුතේ, සලාක දානය කියන්නේ පන්සලට මාස්පතා දෙන දානයට.
ගමේ පන්සලට දානය දෙන්නේ ගමේ උදවිය.
පන්සලේ දායක සභාව නායක හාමුදුරුවන් වහන්සේ සමග කතා බහ කරලා දානය සඳහා දින වෙන් කරවා ගන්නවා.
තමන්ට කැමැති, පහසු දිනයක් දානය සඳහා වෙන්කර ගන්න පුළුවන්.

පවුලේ කෙනෙක් මිය ගිය දිනයක්, උපන් දිනයක් වැනි විශේෂ දවසක් මේ සඳහා තෝරා ගන්න පුළුවන්.

පහළොස්වෙනිදා පුතාගේ සීයා මිය ගිය දිනය.
ඉතින් හැම මාසෙ ම පහළොස්වෙනිදා අපි සලාක දානය දීලා සීයාට පින් අනුමෝදන් කරනවා. සමහර පළාත්වල මේ දානයට මුර දානය, පේරු දානය කියලත් කියනවා.

"අපි දානෙ දෙන්නේ උදේට ද දවල්ට ද අත්තම්මේ? "

අපේ දානේ දෙන්නේ උදේට. ඒ කියන්නේ හීල් දානය පුතේ. ඒ හින්දා අපි අද හවසට පන්සලට දූහැත් ගිලන්පස අරගෙන යන්න ඕනේ.



"මොනව ද අත්තම්මේ දූහැත් ගිලන්පස කියන්නේ?"

හාමුදුරුවන් වහන්සේලාට ගිලන්පසට අවශ්‍ය දේවල්. සීනි, තේ කොළ, ඔසු පැන් වගේ දේවල් ගිලන්පසට පූජා කරනවා. දැහැත් කියන්නේ බුලත්, පුවක් ආදියයි.

එතකොට අත්තම්මේ මේ හඳුන්කූරු, පහන්තිර එහෙම ගෙනියන්නේ ඇයි?

පුතේ, අපි වගේ ම හාමුදුරුවන් වහන්සේලාත් උදේ සවස බුදුන් වඳිනවා. හාමුදුරුවන්ටත් පූජා කරන්න තෙල්, මල්, පහන්තිර, හඳුන්කූරු ඕනැනේ.

අපි දැහැත් ගිලන්පස පූජා කරලා දානය ගෙනයන භාජන අරගෙන එන්න ඕනේ. ඒ ගමන් ම ලොකු හාමුදුරුවෝ මුණගැහිලා හෙට හීල් දානයට කී නමක් පන්සලේ වැඩ ඉන්නවා ද කියලත් දැනගන්න ඕනේ.

දානය ගෙන යන භාජන හොඳින් සෝදා පිරිසිදු කරලා පිස දාලා තියන්න අමතක කරන්න හොඳ නැහැ.

හෙට උදේ ම දානය සූදානම් කරගෙන පිරිසිදු සුදු ඇඳුමින් සැරසිලා මල්, තෙල්, හඳුන්කූරුත් රැගෙන පන්සලට යන්න ඕනේ.

දානශාලාවේ දානය තබා ස්වාමීන් වහන්සේගේ උපදෙස් මත නියමිත භාජනවල බුද්ධ පූජාව පිළියෙල කරන්න ඕනේ. ඊට පසුව පහන්, හඳුන්කූරු දල්වා මල් පූජා කර බුද්ධ පූජාව

තැන්පත් කරනවා. ස්වාමීන් වහන්සේ වැඩම කර ගාථා කියමින් බුද්ධ පූජාව කර පින් අනුමෝදන් කරනවා.



## පැවරුම

සලාක දානය දෙන පිළිවෙළට අනුව අංක යොදන්න.

1. දානය රැගෙන පන්සලට ගියා. (    )

2. පෙර දින දැහැත් ගිලන්පස රැගෙන පන්සලට ගියා. (    )

3. බුද්ධ පූජාව පිළියෙල කළා. (    )

4. දාන භාජන රැගෙන ආවා. (    )

5. පසුදා උදේ ම දානය සූදානම් කළා. (    )

6. ස්වාමීන් වහන්සේලා බුද්ධ පූජාව කරවා පින් අනුමෝදන් කළා. (    )

7. බුද්ධ පූජාව තැන්පත් කළා. (    )

# 22 මල් දන්සල

අරලිය ළමා සමාජයේ දරුවෝ පොසොන් පෝය නිමිති කරගෙන සෑම වසරක ම දන්සලක් සංවිධානය කරති. ළමා සමාජයේ උපදේශක අරවින්ද ගුරුතුමා මෙවර මල් දන්සලක් පැවැත්වීමට යෝජනා කළේ ය. ඒ අනුව ළමා සමාජයේ දරුවන් හා දෙමාපිය කමිටුව කැඳවා මල් දන්සල පැවැත්විය යුතු ආකාරය ඔහු පැහැදිලි කළේ ය.

අරලිය, වතුසුදු, ඉද්ද හා අටපෙති වැනි මල් වර්ග දන්සලට එකතු කර ගැනීම සමිතියේ තීරණය විය. පසුදාට මල් දන්සලට අවශ්‍ය ද්‍රව්‍ය රැස්කර ගැනීමට එක් එක් කණ්ඩායම් බෙදා ගන්නා ලදි.

පෝ දා පහන් විය.

දරුවෝ උදෑසනින් ම අවදි වී මල් නෙළීමට එක් එක් පැතිවලට මවුපියන් සමග පිටත් වූහ.

එක් කණ්ඩායමක් මල් ලබා දීම සඳහා කැන්ද කොළ රැස් කළහ.
ඒවා මල් පූජාවට සුදුසු පරිදි සෝදා පිරිසිදු කිරීමට මවුපියෝ ඉදිරිපත් වූහ. කැන්ද කොළවලින් මල් පිළියෙල කිරීමට සුදුසු

මල් ගොටු සකස් කිරීමට අවශ්‍ය ඉරටු ද එම කණ්ඩායම විසින් ම සකස් කර ගන්නා ලදි.

'දුවේ, පුතේ මල් ධෝවනය කරන විට පරිස්සමෙන්, මල්වල පෙති කැඩේවි. පෙති කැඩුණු මල් පූජාවට සුදුසු නැහැ.' අරවින්ද ගුරුතුමා දරුවන් දැනුම්වත් කළේ ය.

නෙළා ගත් මල්, බේසම්වලට හොඳින් ධෝවනය කරන ලදි.

ඒ මල් කූඩාවලට පුරවා විහාරස්ථානයට ඇතුළුවන දොරටුව අසල සුදු පිරුවටයක් දැමූ මේසයක් මත තැබිණ. ඒ මත සකස් කළ මල් ගොටු තබා මල් දන්සලට සුදුසු ආකාරයට සූදානම් කරන ලදි.

"පුතාලත් සවස හතර වන විට සංවර සුදු ඇඳුමින් සැරසිලා විහාරයට එන්න. අපි අනෙක් අයට ආදර්ශවත් වන විදිහට කටයුතු කරන්න ඕනේ.

අප සැදැහැවතුන්ට මල් දෙන විට ගොටුවල අලංකාර ලෙස සකස් කර ගෞරවයෙන් දෝතින් ම ලබා දෙන්න අවශ්‍ය බව ගුරුතුමා පැවසුවේ ය.

සණ්ඨා නාදය මැද පන්සල වෙත ඇදී එන සැදැහැවත් උදවිය මල් ලබාගෙන "බොහෝම හොඳ පින්කමක්" යනුවෙන් ප්‍රකාශ කළහ. ඔවහු අප හැමෝට ම පින් දුන්හ.




අප කළ පින්කම ගැන අපි සතුටු වුණා. මල් දන්සල අවසන් වූ පසු දන්සලට ගත් උපකරණ නිසි තැන තැබුවා. එම ස්ථානය පිරිසිදු කළා.

අපිත් සවස පූජාවට සහභාගි වුණා. ලොකු හාමුදුරුවන් වහන්සේ අප කළ පින්කම ගැන ප්‍රශංසා කළා; අගය කළා; මල් පින්කමේ ආනිශංස දේශනා කළා. ඒ අසා සතුටට පත් වූ අපි හාමුදුරුවන් වහන්සේට වැඳ නිවෙස් බලා පිටත් වුණා.

## පැවරුම

1. අරලිය ළමා සමාජයේ දරුවන් මල් දන්සල දුන් අයුරු චිත්‍රයට නගන්න.

2. ඔබත් මල් දන්සලක් දීමට උනන්දු වන්න.

# 23 හැම දෙන වෙත පතුරමු මෙත් සිත



ඔය දරුවන්ට මතක ද
අපි දෙකේ පන්තියේ දී
මෛත්‍රී භාවනාව වඩන්න
පුරුදු වුණා.
මේ පාඩමේ දී අපි
තව දුරටත් මෛත්‍රිය වඩන්න
පුරුදු වෙමු.
ගුරුතුමී කිවුවා.
සියලු දෙනා ම හොඳින් වාඩි වුණා.
හිස කෙළින් තබා ගත්තා.
සිරුර කෙළින් තබා ගත්තා.
වම් අත උඩින් දකුණු අත
තබා ගත්තා.
දෑස් පියා ගත්තා.
අපි මෙසේ ගුරුතුමියගේ
උපදෙස් අනුව
මෛත්‍රී භාවනාව වැඩුවා.
මෙසේ ප්‍රාර්ථනා කළා.

මගේ සිත පිරිසිදු ය පිරිසිදු ය පිරිසිදු ය
මගේ සිත සන්සුන් ය සන්සුන් ය සන්සුන් ය
මගේ සිත තැන්පත් ය තැන්පත් ය තැන්පත් ය
මගේ සිත පිරිසිදු ය සන්සුන් ය තැන්පත් ය

මම නිදුක් වෙම්වා !
නීරෝගී වෙම්වා !
සුවපත් වෙම්වා ! සුවපත් වෙම්වා ! සුවපත් වෙම්වා !
මා මෙන් ම මාගේ දෙමාපියෝ ද වැඩිහිටියෝ ද
හිතවන්තයෝ ද අහිතවන්තයෝ ද
සුවපත් වෙත්වා ! සුවපත් වෙත්වා ! සුවපත් වෙත්වා !
සියලු සත්ත්වයෝ නිදුක් වෙත්වා ! නීරෝගී වෙත්වා !
සුවපත් වෙත්වා !
සුවපත් වෙත්වා ! සුවපත් වෙත්වා ! සුවපත් වෙත්වා !

## පුහුණුවට

- සවස බුද්ධ වන්දනාවෙන් පසුව මෛත්‍රී භාවනාව වඩන්න.

# 24 අටසිල් සමාදන් වෙමු

අද අපේ පාසලේ සිල් සමාදන් වෙන දවස.
වෙනදාට කලින් අම්මාත් තාත්තාත් අප අවදි කළා.
එදා අපට දැනුණේ හරි ම සතුටක්.

හොඳින් මුහුණ සෝදා ගෙන නංගීත්, මමත් පිරිසිදු වුණා.
ගෙදර මිදුලේ වතුසුද්ද ගහෙන් මල් නෙළා ගත්තා.
මල් ධෝවනය කර වට්ටිය
පිළියෙල කර ගත්තා.
තෙල්, පහන්,
හඳුන්කූරු කලින් ම
පිළියෙල කරලයි
තිබුණේ.



සිල් ඇඳුම් ඇඳ ගත්තා.
අම්මාට තාත්තාට වැඳ
පාසලට යන්න පිටත්
වුණා. බෞද්ධ
කොඩිවලින් සැරසූ
පාසල හරි ම ලස්සනයි.
අද අපේ පාසල පෝය
දවසේ පන්සල වගෙයි.

සිල් ඇඳුම් ඇඳගත්තු ළමයින්
කොඩි අතරින් එන විට හරි ම ලස්සනයි.
ළමයි බුදුමැඳුර අවට පිරිසිදු කළා.
බුදුගුණ කියමින් පූජා ද්‍රව්‍ය අතගස්වා බුදුමැඳුරේ තැන්පත් කළා.
ගුරුතුමී අනුව යමින් අපි වාක්‍ය කියා සිල් ඉල්ලුවා.
අපේ හාමුදුරුවෝ අප අටසිල් සමාදන් කරවූවා.

1. පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

2. අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

3. අබ්‍රහ්මචරියා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

4. මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

5. සුරාමේරය මජ්ජපමාදට්ඨානා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

6. විකාල භෝජනා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

7. නච්ච ගීත වාදිත විසූක දස්සන මාලා ගන්ධ විලේපන ධාරණ මණ්ඩන විභූසනට්ඨානා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

8. උච්චාසයන මහාසයනා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

සිල් සමාදන් වූ අපි බණ ඇහුවා, භාවනා කළා, බුද්ධ වන්දනාවේ යෙදුණා. දවස ම සිල්වත් ව ගත කළා.



ඒ නිසා දවස ම ප්‍රයෝජනවත්ව ගත වුණා.
සිල් පවාරණය කළ අප ගුරුතුමන්ට, ගුරුතුමියන්ට වැඳ ගෙදර ගියේ නැවතත් පෝය දිනයක විහාරස්ථානයේ දී සිල් සමාදන් වෙන්න හිතාගෙනයි.

## ක්‍රියාකාරකම

1. ගුරුතුමී සමග එක්ව අටසිල් පිළිබඳ සාකච්ඡා කරන්න.

## පුහුණුවට

ඕකාස අහං භන්තේ තිසරණේන සද්ධිං
අට්ඨංග උපෝසථ සීලං යාචාමි
අනුග්ගහං කත්වා සීලං
දේථ මේ භන්තේ
අනුකම්පං උපාදාය.

# 25 සතුට උතුම් ධනය වේ

දහම් පාසලේ උදෑසන රැස්වීමට ලොකු හාමුදුරුවෝ වැඩම කළා. බුද්ධ වන්දනාවෙන් පසු අපි හැමෝට ම ලොකු හාමුදුරුවෝ අනුශාසනාවක් පැවැත්වූවා.

ලොකු හාමුදුරුවෝ : පින්වත් දරුවනි, අපි හැමෝ ම සතුටින් ජීවත් වෙන්න කැමැතියි නේද? අපි වගේ ම සතුටින් ඉන්න සතුනුත් කැමැතියි.
ඔය දරුවෝ සතුටු වෙන්න ගොඩක් දේවල් කරනවා නේද?

සිසුන් : එහෙමයි අපේ හාමුදුරුවනේ, අපි සෙල්ලම් කරනවා, ලස්සනට ඇඳුම් පැලඳුම් අඳිනවා, රසවත් ආහාර ගන්නවා, අසරණයින්ට උදවු කරනවා, සතුන්ට ආදරය කරනවා, බණ අහනවා, පින්කම් කරනවා, ගස් වැල් සිටුවනවා, මල් වවනවා. ඒ හැම දෙයක් ම අපි කරන්නේ සතුටින්.

ලොකු හාමුදුරුවෝ : ඔව් දරුවනේ, ඒවා හොඳ දේවල්.

ඒවා අතරින් බණ ඇසීම, අසරණයින්ට උදවු කිරීම, පින්කම් කිරීම ආදිය තුළින් ලබන සතුට ධාර්මික සතුට කියලා බුදු හාමුදුරුවෝ දේශනා කරලා තියෙනවා.

අනුන් රවටලා, බොරු කියලා, හිංසා කරලා, පහරදීලා, අනුන්ගේ දේවල් හොරකම් කරලා, සමහර අය සතුටු වෙනවා. එසේ ලබන සතුට අධාර්මික සතුට කියලා බුදු හාමුදුරුවෝ දේශනා කරලා තියෙනවා.

ධාර්මික ව ලබන සතුට පරම ධනයයි. එය **සන්තුට්ඨී පරමං ධනං** යනුවෙන් දැක්වෙනවා. පින්වත් දරුවනි, අපට අවශ්‍ය දෙයක් තමයි සතුට කියන්නේ. එනිසයි එය පරම සැපත කියලා කියන්නේ. මේ පින්වත් දරුවෝ හොඳ දේ කරලා සතුටු වෙන්න. නරක දේ නොකරන්න ඉතාමත් තදින් සිතාගන්න.

ඔබ සැමට තෙරුවන් සරණයි!

## ක්‍රියාකාරකම

1. ඔබ සතුටු වීම සඳහා පාසල් වේලාවෙන් පසුව කරන යහපත් දේවල් තුනක් ලියන්න.

## පුහුණුවට

සතුට උතුම් ධනය වේ
එය ලැබුමත් සතුට වේ
සතුටින් සැනසුම ම වේ
අප සැමට ම ජය ම වේ

# 26 වෛරයෙන් වෛරය නොසන්සිඳේ

පෝය දවසේ පන්සල් ගිය අපි
බෝධි පූජාවට සහභාගි වුණා.
බෝධි පූජාවෙන් පසුව ලොකු හාමුදුරුවෝ
අනුශාසනාවක් පැවැත්වූවා.

"න හි වේරේන වේරානි
සම්මන්තීධ කුදාවනං"

පින්වතුනි, අපි කිසිවකුටත් වෛර
කරන්න හොඳ නෑ.
හැම දෙනාට ම මෛත්‍රිය
කරන්න ඕනේ.
වෛරය හිතට ඇතුළු වුණා ම
අපි අසනීප වෙන්නත් පුළුවන්.



වෛරය කියන්නේ
නරක දෙයක්. මේ භවයේ දී
විතරක් නොවෙයි භවයෙන්
භවයට ගමන් කරන
දෙයක්.
දේවදත්ත හාමුදුරුවන් ගැන
ඔබ අසා ඇති.

රන් තලියක් නිසා ඇතිකර ගත් වෛරය ආත්ම කීයක් නම් ආවා ද?



වෛර කරමින් කටයුතු කළ නිසා අවසානයේ දී දේවදත්ත හිමිට අපායට යන්න සිදු වුණා. වෛර කරන්න හොඳ නැහැ. මෛත්‍රී කිරීමෙන් පමණයි වෛරය නැති කරන්න පුළුවන්.
මෛත්‍රී කරන අයට හැම දෙනා ම කැමැතියි.
ඔහු හැම දෙනාගේ ම මිතුරෙක්.
හැම දෙනා ම වෛර නොකර සියලු සත්ත්වයන්ට මෛත්‍රී කරන්න පුරුදු වන්න.
පින්වතුන් සෑම දෙනාට ම තෙරුවන් සරණයි.

## පුහුණුවට

න හි වේරේන වේරානි
සම්මන්තී'ධ කුදාචනං
අවේරේන ච සම්මන්ති
ඒස ධම්මෝ සනන්තනෝ

# 27 කැලණිය දාගැබ

බුදුරජාණන් වහන්සේ දෙවන වර ලංකාවට වැඩියේ නාගදීපයට. එහි දී මණිඅක්ඛික නා රජු හමුවුණා. තමාගේ රාජධානිය වූ කැලණියට වඩින ලෙස ඔහු බුදුරජාණන් වහන්සේට ආරාධනා කළා.

බුදු වී අවුරුදු අටකට පසු බුදුරජාණන් වහන්සේ පන්සියයක් රහතන් වහන්සේලා සමග කැලණියට වැඩම කළා. එදා වෙසක් පුර පසළොස්වක පොහොය දිනයයි. මණිඅක්ඛික නා රජු බුදුරජාණන් වහන්සේත් මහ රහතන් වහන්සේලාත් ඉතා ගෞරවයෙන් පිළිගත්තා.

බුදුරජාණන් වහන්සේට වැඩ සිටීම සඳහා අගනා මැණික් පුටුවක් පිළියෙල කොට තිබුණා. බුදුරජාණන් වහන්සේත් මහ රහතන් වහන්සේලාත් වැඩ සිටියේ විශේෂ මණ්ඩපයක. නා රජු සහ පිරිස දානය පිරිනැමුවා.

බුදුරජාණන් වහන්සේ දන් වැළඳීමට පෙර කැලණි ගඟෙන් පැන් පහසු වූවා. එහිදී බුදුරජාණන් වහන්සේ හැඳ සිටි සිවුර නිදන් කොට නා රජු දාගැබක් තැනුවා. එය සිවුරු දාගැබ නමින් හැඳින්වූවා.
අද එය **කිත්සිරිමෙවන් විහාරය** නමින් හැඳින්වෙනවා.

බුදුරජාණන් වහන්සේ වැඩ සිට ධර්මය දේශනා කළ මැණික් පුටුව හෙවත් මිණි පළඟ තිදන් කරවා මණිඅක්ඛික නා රජු චෛත්‍යයක් කරවූවා. එම චෛත්‍යය කැලණි දාගැබ නමින් හැඳින්වෙනවා.



කැලණි රජ මහ විහාරය බුදුරජාණන් වහන්සේගේ පාද ස්පර්ශයෙන් සුපිරිසුදු වූ පූජනීය ස්ථානයක්. එය සොළොස්මස්ථානවලට අයත් වෙනවා.

බුදු හිමි සිහි කර, බුදු ගුණ සිහි කර අපිත් කැලණි විහාරය වන්දනා කරමු.

## පුහුණුවට

වෙසක් පෝය දා යමු අපි කැලණි විහාරේ
බුදුහිමි වැඩි තෙවැනි තැනයි කැලණි විහාරේ
බුදුගුණ සිහි කර වඳිනෙමු කැලණි විහාරේ
පින් රැස් කර නිවන් පතමු කැලණි විහාරේ

## ක්‍රියාකාරකම

### නිවැරැදි පිළිතුර තෝරන්න

1. බුදුරජාණන් වහන්සේ දෙවන වර වැඩියේ ..................
   (නාගදීපයට ය / කැලණියට ය)

2. බුදුරජාණන් වහන්සේ තුන් වන වර වැඩියේ ..................
   (කැලණියට ය / නාගදීපයට ය)

3. බුදුරජාණන් වහන්සේ කැලණියට වැඩියේ ..................
   (වෙසක් / පොසොන්) පුර පසළොස්වක දිනයේ දී ය.

4. එකල කැලණියේ සිටි රජතුමා මණිඅක්ඛික ..................
   (නා රජු ය / දෙව් රජු ය)

5. පූජනීය කැලණි රජ මහා විහාරය සොළොස්මස්ථානයට
   අයත් .................. (වන්නේ ය / නොවන්නේ ය)

# 28 දළදා මාලිගාව

ශ්‍රී දළදා වහන්සේ මහනුවර දළදා මාලිගාවේ වැඩ සිටිනවා. බෞද්ධයන් වන අප සතුව තිබෙන උතුම් වස්තුවකි, දළදා වහන්සේ.

ඉන්දියාවේ හේමමාලා කුමරිය සහ දන්ත කුමාරයා දළදා වහන්සේ ලංකාවට වැඩමවා ගෙන ආවා. එකල ලංකාවේ රජකම් කළේ කිත්සිරිමෙවන් රජ.



ලංකාවේ රාජධානි කාලයෙන් කාලයට වෙනස් වුණා. මේ නිසා, පසු කාලයේ පොළොන්නරුව, කොත්මලේ, බෙලිගල, දඹදෙණිය, යාපහුව, කෝට්ටේ, දෙල්ගමුව යන නගරවල ඉදිකළ දළදා මාලිගාවලත් දළදා වහන්සේ වැඩ සිටියා.

පළමු වන විමලධර්මසූරිය රජතුමා දළදා වහන්සේ මහනුවරට වැඩම කළා. දෙවන විමලධර්මසූරිය රජතුමා මහල් තුනකින් යුක්ත ව දළදා මාලිගාව සෑදුවා.

කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමා ඇතුළත මාලිගාව සෑදුවා. දළදා පෙරහැර පැවැත්වීම මෙම රජතුමාගේ කාලයේ දී ආරම්භ වුණා. දළදා පෙරහැර ඇසළ මාසයේ මහනුවර දී පැවැත්වෙනවා.

ලංකාවේ අවසාන රාජධානිය පිහිටියේ කන්ද උඩරට මහනුවරයි. මේ නිසා දළදා වහන්සේ දැනටත් වැඩ සිටින්නේ මහනුවර ඉදිකර ඇති දළදා මාලිගාවේයි.

බෞද්ධයෝ දළදා වහන්සේට දක්වන්නේ ජීවමාන බුදුරජාණන් වහන්සේට දක්වන ගෞරවයයි. ශ්‍රී දළදා වහන්සේ රැක ගැනීම බෞද්ධ අපගේ උතුම් වගකීමක්.

## පුහුණුවට

පහනක් දල්වා මලක් පුදාලා
සිරි දළදා හිමි සැදූහැ සිතින්
බුදු හිමි සිහි කර හිත සනසාලා
සිරි දළදා හිමි සැදූහැ සිතින්

දෝත නගාලා වඳිනෙමු සැම දා
සිරි දළදා හිමි සැදූහැ සිතින්
නිවන් පතාලා පුද දෙමු සැම දා
සිරි දළදා හිමි සැදූහැ සිතින්

## ක්‍රියාකාරකම

පිළිතුරු ලියන්න.

1. ශ්‍රී දළදා වහන්සේ වැඩ සිටින්නේ කොහේ ද?
2. දළදා වහන්සේ ලංකාවට වැඩමවාගෙන ආවේ කවුද?
3. එකල සිටි රජතුමාගේ නම ලියන්න.
4. දළදා පෙරහැර පැවැත්වෙන්නේ කුමන මාසයේ දී ද?